සැඟවුණු බොදු මඟ යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2017 පෙබරවාරි)

65 වෙනි කලාපය



## ජංගම දුරකතනයේ සැඟවුණු මාරයා




රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# පුරිස ධම්ම සාරථී

පා හද පිරි කුළුණු මෙත සව් සත හමුවේ
ලෝ වැඩ පිණිසමය හිමි බුදු බණ දෙසුවේ
සැහෙන බොදු පිරිස දුක පිරිසිඳ දුටුවේ
බාධක හැඳින භව බැමි සිඳ බිඳ දැමුවේ

අංගුලිමාල මැරවරයෙකු වුනාට
කන් දුනි බැති සිතින් සම්බුදු පියාට
සුන් කර පව්ටු සිතුවිලි තිබු තමාට
සන් සුන් විය හැරුණි බුදු මග දිහාට

බීලා සුරා සපැමිණි හිමි අභියස ට
නාලා ගිරි ගජිඳු පත් වුනි දමනය ට
පාලා මෙත සමිඳු සිදු කළ අසිරිය ට
දීලා අත් මුදුන් නමදිමු බුදු හිමි ට

කම් පල නොදත් මිසදිටු මැරවර පුඟුලා
නිමි නැති වහසි බස් හිමි හමුවෙහි දොඩලා
දම් රස අමාවෙන් ඔහු හදවත නිවලා
සම් බුදු හිමි අලව් යකු දමනය කරලා

බුදු හිමි සමග සච්චක වාදෙට එළඹ
ඇදුරිඳු තිලොව හැඬු කල දම් මිණි සළඹ
හුදු මුසිලව අභියස ගුත්තිල ගඳඹ
පිදු ජය දසත පැතිරුනි කිතු ගොස පුසුඹ

පරස්පර විවිධ මිසදිටු මත වලිනි
පිටස්තර පිරිස නොමගට ගිය බැවිනි
අනුත්තර පුරිස දම් සාරථී ගුණෙනි
නිරුත්තර කළහ බුදු හිමි සම මෙතිනි



පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# ආර්යන් විඳින්නේ දුකද සැපද?

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 15

කාවුරුහරි ඇහුවොත්, නිවන් දකිනව කියන්නෙ සැපක්ද දුකක්ද කියල, ඔබ දෙන උත්තරය මොකක්ද? ඒ උත්තරය අනුව අනුමාන කරන්න පුළුවන් ඔබ ආර්යයෙක්ද, එහෙම නැත්නම් ආර්යත්වයට කොච්චර දුරද ළඟද ඉන්නෙ කියල. හැබැයි කෙනෙක් අවබෝධයකින් තොරව කියන්න පුළුවන්, නිවන් දකින එක සැපක් කියල. මොකද හැම තිස්සෙම අපිට අහන්න ලැබෙන්නෙ නිවන් සැප කියලනෙ. මරණ ගෙවල්වල දන්වීම් ගහන්නෙත් නිවන් සැප ලැබේවා කියලනෙ.

ධර්ම මාත්‍රයක් අහල නැති පෘතජ්ජනයෙක්ගෙන් ඇහුවොත් නිවන් දකින්න කැමතිද කියල, සමහර විට බැනුම් අහන්නත් වෙයි. බොහොමයක් පෘතජ්ජනයො හිතාගෙන ඉන්නෙ නිවන් දකින්නෙ මැරුණට පස්සෙ කියල. එහෙම හිතාගෙන ඉන්න කෙනෙක්ගෙන් නිවන් දකින්න කැමතිද කියල ඇහුවොත් හිතන්නෙ, මැරෙන්න කැමතිද ඇහුව කියල. කෙනෙක් උදව්වක් කළාට පස්සෙ ස්තුතියි කියනවා වෙනුවට, නිවන් සැප ලැබේවා කියල ප්‍රාර්ථනා කළොත් එහෙම මුහුණ ඇඹුල් වෙනවා. ඒ වෙලාවට හිතන්නෙ හරිම අසුභ දෙයක් ප්‍රාර්ථනා කළා කියල. ඒක තමයි පෘතජ්ජනයින්ගෙ විපරීත දෘෂ්ඨිය. පෘතජ්ජනයාට නිවන අසුභයි, ලෝකය සුභයි. බොහෝ අය නිවන් දකිනව කියල හිතාගෙන ඉන්නෙ නැවත ඉපදෙන්නෙ නෑ කියන අර්ථයෙන් විතරයි. ඉතින් නැවත ඉපදෙන්නෙ නැත්නම් කොහොමද සැප විඳින්නෙ කියල ඔවුන් කල්පනා කරනවා.

නිවන කියන්නෙ සැපක්ද දුකක්ද කියල නිවන් දැකපු කෙනෙක් ඇරෙන්න, වෙන කෙනෙක් කොහොම තේරුම් ගන්නද? පෘතජ්ජනයෙකුට නිවන වැටහෙන්නෙ දුකක් හැටියටම තමයි. ලෝක සත්ත්වයා මේ ලෝකයට ආපු වෙලාවෙ ඉඳන් මොකක්ද හොයන්නෙ? සැපක්මයි හොයන්නෙ. මේ ලෝකයට ආවෙ සැප හොයාගෙන මිසක් දුක් හොයාගෙන නෙවෙයි. කවුරුවත් දුක් විඳින්න කැමති නෑ. හොයන්නෙම සැප. ඒ කියන්නෙ ලෝක සත්ත්වයාගෙ කැමැත්ත දුක් නොවිඳ සැපෙන් ඉන්න. ලෝකය කියන්නෙ දුකක්, නිවන කියන්නෙ සැපක් නම්, ලෝක සත්ත්වයා නොදැන හරි හොයල තියෙන්නෙ මොකක්ද? නිවන නේද?

එහෙනම් ලෝක සත්ත්වයා නොදන්නවා වුනාට, ඔවුන් හොයන්නෙ නිවන. ඔවුන්ගෙ මූලික කැමැත්ත නිවන් දැකීම, දුකින් මිදීම. දුකෙන් මිදුනම නැවත ඉපදීමක් නෑ තමයි. හැබැයි නැවත උපදින්නෙ නැත්තෙ දුකෙන් මිදීමේ ප්‍රතිඵලයක් නිසා කියල පෘතජ්ජනයට වැටහෙන්නෙ නෑ. මොකද ඔවුන් ලෝකය හරි සැපයි සාරයි කියන දෘෂ්ඨියේ ඉඳගෙන තමයි නිවන ගැන හිතන්නෙ. ඒ නිසා නැවත ඉපදෙන බලාපොරොත්තුවක් ගැන ඔවුන්ට නොතේරුනාට ඔවුන්ගෙ අභ්‍යන්තරයේ තියෙනවා.

බොහෝ විට කෙනෙක් දුක් විඳින්න කැමති වෙන්නෙ අනාගත සැප බලාපොරොත්තුවෙන්. දැන් කවුරු හරි මහන්සි වෙලා ඉගෙන ගන්නෙ ඇයි? ඉගෙන ගන්න ළමයෙක්ගෙන් ඇහුවොත්, උදේම නැගිටල ඉස්කෝලෙ යන එක, ඉස්කෝලෙ ඇරිල උපකාරක පන්ති යන එක සැපක්ද කියල මොකක් කියයිද? අනේ ඔව් හරි සැපක් කියල කියයිද? රෑ නිදි වරාගෙන පාඩම් කරන එක හරි සැපක් කියල කියයිද? එහෙනම් ඇයි මේ දුක් විඳින්නෙ? ඔවුන්ගෙ දෘෂ්ඨියක් තියෙනවා, අද දුක් වින්දොත් අනාගතයෙදි සැප විඳින්න පුළුවන් කියල. එහෙම නැතුව කවුරුවත් දුක් විඳින්න කැමැත්තක් නෑ.

ආස්වාදයට ඇලිල තමයි ලෝක සත්වයා සසර ගමනක් අනන්ත කාලයක පටන් එන්නෙ. එතකොට ආස්වාදයක් කියල දෙයක් ලෝකයේ තියෙනවද? බුදු පියාණන් වහන්සේ ආස්වාදයක් නෑ කියල දේශනා කළේ නෑ. සංයුක්ත නිකායේ තුන්වන කාණ්ඩයේ, 52 පිටුවේ එන <u>තතීය අස්සාද සූත්‍රයේ</u> මේ විදිහට දක්වා තියෙනවා.

නො චේදං භික්ඛවේ, රූපස්ස අස්සාදෝ අභවිස්ස, නයිදං සත්තා රූපස්මිං සාරජ්ජෙය්‍යුං, යස්මා ච ඛෝ භික්ඛවේ, අත්ථි රූපස්ස අස්සාදෝ, තස්මා සත්තා රූපස්මිං සාරජ්ජන්ති.

මේ පාඨයේ සිංහල අනුවාදය මේ විදිහට දක්වා තියෙන්නෙ.

**මහණෙනි, රූපයාගේ ආස්වාදයක් නැත්නම් සත්ත්වයෝ රූපයෙහි නොඇලෙති. මහණෙනි, යම් හෙයකින් රූපයාගේ ආස්වාදයක් ඇත්ද, එහෙයින් සත්ත්වයෝ රූපයෙහි ඇලෙති.**

මේ සූත්‍රයේ මේ විදිහටම වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවලටත් අර්ථ දක්වා තියෙනවා. ඒ කියන්නෙ මුළු ලෝකයම මේ විදිහට විස්තර කරල තියෙනවා.

ලෝක සත්ත්වයා සසර ගමනක් යන්නෙ මේ ආස්වාදය ☞

බලාපොරොත්තුවෙන්. ලෝකයෙන් ආස්වාදයක් ලැබෙන්නෙ නැත්නම් සත්ත්වයා ලෝකයට ඇලෙන්නෙ නෑ. ආස්වාදය විසින් දුක වහල දානවා. මේ ආස්වාද බලාපොරොත්තුව තියෙනකල් සත්ත්වයාට ලෝකයෙන් මිදීමක් නෑ.

හැබැයි ලෝක සත්ත්වයා මහා දුකක් විඳල ලබාගන්නෙ ආස්වාද මාත්‍රයයි. ආස්වාද මාත්‍රයක් ලබාගන්න දුක් කෝටියක් විඳිනවා. මේ බව මජ්ජිම නිකායේ පළමුවන කාණ්ඩයේ - 218 පිටුවේ එන චූල දුක්ඛක්ඛන්ධ සූත්‍රයේ කාමයේ ආස්වාද ගැන විස්තර කරනකොට පෙන්වා තියෙනවා.

යතෝ ච බෝ මේ මහානාමඃ අප්පස්සාදා කාමා බහු දුක්ඛා බහූපායාසා, ආදීනවෝ එත්ථ භියෝයෝති ඒව මේතං යථාභූතං සම්මප්පඤ්ඤාය සුදිට්ඨං අහෝසි, සෝ ච අඤ්ඤත්‍රෙව කාමේහි අඤ්ඤත්‍ර අකුසලේහි ධම්මේහි පීති සුඛං අජ්ඣගමං අඤ්ඤඤ්ච තතෝ සන්තතරං, අථාහං අනාවට්ටි කාමේසු පච්චඤ්ඤාසිං.

සිංහල අනුවාදය මේ විදිහට දක්වා තියෙනවා.

මහානාමය, යම් කලෙක "කාමයෝ අල්පාස්වාදයහ, බහුදුක්ඛයහ, බහූපායාසයහ, තෙල කාමයෙහි උපද්‍රව බහුල යැ" යි මෙසෙයින් තෙල යථා ස්වභාවය මනා නයින් ප්‍රඥායෙන් දක්නා ලදුයේ වීද, මමද, කාමයන් විනා මැ අකුසල් දහමුන් විනා මැ ප්‍රීති සුඛය අධිගම කෙළෙම් වෙම්ද, ඒ වරා ශාන්තර අනෙකක් හෝ අධිගම කෙළෙම් වෙම්ද, එකල මම "කාමයෙහි අනාවර්තියෙමි" යි පිළින කෙළෙමි.

මේ සූත්‍රයේ, **කාමයෝ ස්වල්ප ආස්වාදයක් ගෙන දෙන නමුත් මහා දුක් කඳක් සහිත බව පැහැදිලිව දක්වා තියෙනවා.** ඍතවත් ආර්ය ශ්‍රාවකයා මේ බව මනා ප්‍රඥාවෙන් දකිනවා. කාමයේ ආදීනව වන මහා දුක් කඳෙන් වෙන්වෙලා ඉන්න කටයුතු කරන්නෙ ඒ නිසා. ඒ මහා දුක් කඳෙන් වෙන්වීමමම තමයි ආර්යන් ලබන මහා සැපය. එතැන කාමයන් නිසා හටගන්නා මහා දාහය ඇති වෙන්නෙ නෑ. ඒ සුවය වේදනා චෛතසිකයෙන් විඳින එකක් නෙවෙයි. පෘතජ්ජනයෙක් සැපක් විඳිනව කියල දන්නෙ වේදනා චෛතසිකයෙන් සුඛ වේදනාවක් විඳින එක විතරයි. ඒ නිසයි ඔවුන්ට නිවන් සුවය තේරුම් ගන්න බැරි වෙන්නෙ.

ඒ වගේම නෙත්තිප්‍රකරණයේ දේසනාහාර විභංගයේ 18 වන පිටුවේ ආස්වාද, ආදීනව, නිස්සරණ හා චතුරාර්ය සත්‍යය අතර තියෙන සම්බන්ධය පැහැදිලිව දක්වා තියෙනවා.

සායං ධම්ම දේසනා කිං දේසයතිඃ චත්තාරි සච්චානි දුක්ඛං සමුදයං නිරෝධං මග්ගං ආදීනවෝ ඵලං ච දුක්ඛං, අස්සාදෝ සමුදයෝ, නිස්සරණං නිරෝධෝ, උපායෝ ආණත්ති ච මග්ගෝ, ඉමානි චත්තාරි සච්චානි, ඉදං ධම්මචක්කං.

සිංහල අනුවාදය මේ විදිහට දක්වා තියෙනවා.

මේ යථෝක්ත ධර්ම දේශනාව කුමක් දෙසයි යත් : චතුස්සත්‍යයි : දුඃඛ යැ, සමුදය යැ, නිරෝධ යැ, මාර්ගයැයි. ආදීනවය හා ඵලය දුඃඛ නම්. ආස්වාදය සමුදය නම්. නිස්සරණය නිරෝධ නම්. උපාය හා ආණත්ති මාර්ග නම්. මේ චතුස්සත්‍යයි. මේ (බුදුරදුන්ගේ සිව්සස් විසින් සාමුක්ඛන්සිංක දේසනාව) ධර්ම චක්‍ර නම් වේ.

මෙතනදි ආදීනවය දුක්ඛ සත්‍යය හැටියටත්, ආස්වාදය සමුදය සත්‍යය හැටියටත්, නිස්සරණය නිරෝධ සත්‍යය හැටියටත් පෙන්වා තියෙනවා. ඒ කියන්නෙ **ආස්වාදය දුක කියල නෙවෙයි පෙන්වා තියෙන්නෙ. ආස්වාදය තමයි දුකට හේතුව. මොකද ආස්වාදයේ ඇලෙන්න ගිහින් තමයි දුකට වැටෙන්නෙ. ලෝක සත්ත්වයා සසරට ඇදල දාන්නෙ ආස්වාදය. ආස්වාදය දුකක් වුනා නම් ලෝක සත්ත්වයා ලෝකයට ඇලෙන්නෙ නෑ.** ආස්වාදය ආස්වාදය විදිහට දකින්න කිව්වෙ ඒකයි. ආස්වාදයට ඇලුනොත් තමයි තවදුරටත් ලෝකය පිළිබඳ බලා- පොරොත්තු ඇතිවෙන්නෙ. එතකොට සසරෙන් මිදෙන්න ලැබෙන්නෙ නෑ.

අද සමහරු ඇති තරම් ආස්වාද වින්දම ආස්වාද එපා වෙන බවත්, එතකොට ලෝකයෙන් මිදෙන්න පුළුවන් කියලත් අදහස් දෙනවා. නමුත් කවදාවත් එහෙම වෙන්නෙ නෑ. බුදු පියාණන් වහන්සේ කොතැනකවත් එහෙම දේශනා කරල නෑ. ලෝකයෙන් මිදෙන්න නම් ලෝකයේ ආදීනව දකින්නම ඕන. ඇති තරම් ආස්වාද වින්ද කියල ලෝකයෙන් මිදෙන්න පුළුවන් නම් උන්වහන්සේට ආස්වාද, ආදීනව, නිස්සරණ කියල තුනක් දේශනා කරන්න අවශ්‍ය වෙන්නෙ නෑ. තතීය අස්සාද සූත්‍රයේම ඒ බව මේ විදිහට දක්වා තියෙනවා.

නො චේදං භික්ඛවේ, රූපස්ස ආදීනවෝ අභවිස්ස, නයිදං සත්තා රූපස්මිං නිබ්බින්දෙය්‍යුං, යස්මා ච බෝ භික්ඛවේ, අත්ථි රූපස්ස ආදීනවෝ, තස්මා සත්තා රූපස්මිං නිබ්බින්දන්ති.

සිංහල අනුවාදය මේ විදිහට දක්වා තියෙනවා.

මහණෙනි, රූපයාගේ ආදීනවයෙක් නොවී නම් සත්ත්වයෝ රූපයෙහි නොකල කිරෙති. මහණෙනි, යම් හෙයකින් රූපයාගේ ආදීනවයෙක් ඇත්ද, එහෙයින් සත්ත්වයෝ රූපයෙහි නිර්වේද කෙරෙත්.

මේ සූත්‍රයේ මේ විදිහටම වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවලටත් දක්වා තියෙනවා. ඒ කියන්නෙ මුළු ලෝකයම මේ විදිහට විස්තර කරල තියෙනවා. එතකොට ලෝක සත්ත්වයා ලෝකයෙන් මිදෙන්නෙ ආදීනව දැකලමයි. වෙන ක්‍රමයක් නෑ. තව දුරටත් ඒ සූත්‍රයේ මේ විදිහට දක්වා තියෙනවා.

මහණෙනි, යම් කලෙක පටන් සත්ත්වයෝ මේ පඤ්චෝපාදාන ස්කන්ධයන්ගේ ආස්වාදය ආස්වාද විසිනුදු ආදීනවය ආදීනව විසිනුදු නිස්සරණය නිස්සරණ විසිනුදු ඇති තතු දත්තාහුද, මහණෙනි, එසඳ සත්ත්වයෝ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත ලෝ වැස්සෝ මහණ බමුණන් සහිත දෙව් මිනිසුන් සහිත සත්ත්ව ප්‍රජාව (මේ පස් කඳින්) නික්මුණාහුය, විසංයුක්ත වූහුය, වෙසෙසින් මිදුණාහුය. සීමා කොට නොගත් සිතින් යුතුව වාසය කෙරෙත්.

මේ අනුව ලෝකයේ ආස්වාදයක් නෑ කියන්නෙ නෑ. ආස්වාදය ආස්වාදය හැටියට දකිනවා. ආස්වාදයක් නෑ කියල හිත රවටා ගැනීමක් කරන්නෙ නෑ. රූප කැතයි, රූප ගඳයි, රූප පිළිකුලයි කියල කියන්නෙ නෑ. ඒ වගේම ලෝකයේ ආදීනවයක් නෑ කියන්නෙත් නෑ. ආදීනවය ආදීනවය හැටියට මනා ප්‍රඥාවෙන් දකිනවා. ආදීනව දැකීම තුළින් ලෝකයට තියෙන ඡන්ද රාගය පහ වෙනවා. ඡන්ද රාගය පහ වීම හිතල මතල චේතනාවෙන් කරන

දෙයක් නෙවෙයි. ආදීනව දැකීම තුලින් සිදුවන දෙයක්. අපට කරන්න තියෙන්න මනා ලෙස ලෝකයේ ආදීනව දැකීම විතරයි. ආදීනව දැකීම තුලින් ප්‍රඥාව වැඩෙනවා. ඒත් එක්කම නිවනේ ආනිසංස සිහි කරනවා. ඒ තුලින් විමුක්තිය ලැබෙනවා. කරන්න තියෙන්නෙ එච්චරයි. අපිට ඕන වෙලාවට ඵලය ලබාගන්න බෑ. ලැබෙනකල් බලාගෙන ඉන්න ඕන. ඒකත් අනිච්චයි. හැබැයි ඒකට නිකං ඉඳල හරියන්නෙ නෑ. කළ යුතු දේ කරන්න ඕන.

මොකක්ද මේ ලෝකයේ ආදීනවය? ඒ තමයි අනිච්ච, දුක්ඛ, විපරිනාම ස්වභාවය. එහෙනම් නිවන් දකින්න අනිච්ච දකින්නම ඕන. ලෝකය කියන්නෙ සංඛතයක්, සකස් වෙච්ච එකක්. පටිච්ච සමුප්පන්නව ගොඩ නැගෙන එකක්. ඒ නිසා ලෝකය අනිච්චයි, විපරිනාම ස්වභාවයෙන් යුක්තයි. ලෝකය අපේ කැමැත්තට පවත්වන්න හෝ ගොඩනගන්න හෝ බෑ. අපේ වසඟයේ පවත්වන්න බෑ. එහෙම දෙයකට අපි ඉච්ඡාවක්, තණ්හාවක් හදා ගත්තොත් දුක් විඳින්න සිද්ධ වෙනවා. මේක ප්‍රඥාවෙන් දැක්ක දාට දුක්ඛ ආර්ය සත්‍යය දකිනවා. ඒ කියන්නෙ වේදනා චෛතසිකයෙන් දුක් විඳිනවා කියන එක නෙවෙයි. දුක අවබෝධ කරනවා. ඊට පස්සෙ ලෝකය ගැන මතු බලාපොරොත්තු ක්‍රමයෙන් හීන වෙන්න පටන් ගන්නවා. සියලු බලාපොරොත්තුවලින් මිදිල නිදහස් වුන දාට අරිහත්වය සාක්ෂාත් වෙනවා.

අපි මේ ලෝකයට ආවෙ ඇහෙන් රූප ආස්වාද විඳින්න, කනෙන් ශබ්ද ආස්වාද විඳින්න, නහයෙන් ගන්ධ ආස්වාද විඳින්න, දිවෙන් රස ආස්වාද විඳින්න, කයෙන් ස්පර්ශ ආස්වාද විඳින්න, මනෙන් ධර්ම ආස්වාද විඳින්න. ජීවත් වෙනව කියල කවුරුත් කරන්නෙ ඔය ටික පිනව පිනව ඉන්න එක. කවුරුහරි මේවා පිනවන්න උනන්දුවක් ගන්නෙ නැත්නම්, අද සමාජයේ අය කියන කතාවක් තියෙනවා. මේ මිනිහ කන්නෙත් නැත්නම් බොන්නෙත් නැත්නම් අඳින්නෙත් නැත්නම් ජොලියක් දාන්නෙත් නැත්නම් කොහේවත් විනෝද ගමනක් යන්නෙත් නැත්නම් කාන්තාවක් ඇසුරු කරන්නෙත් නැත්නම් මොන එහෙකට ජීවත් වෙනවද කියල අහන පුරුද්දක් තියෙනවා. ඒ වගේ දේවල් මොනවත් කරන්නෙ නැත්නම් පෘතජ්ජනයාට ඒක හරි ප්‍රශ්නයක්. මොකද ඔවුන් ලෝකෙට ආවෙ ඔය ටික කරල සැප විඳින්න. ඉතිං ඒ ටික නොකරන කෙනෙක් දැක්කොත් හිතන්නෙ පිස්සෙක් කියල. ලෝකයේ අසාරත්වය දැකල ලෝකයෙන් මිදෙන්න කටයුතු කරන ආර්යන්ව පෘතජ්ජනයින්ට පේන්නෙත් ඔය විදිහටම තමයි. "මේ මොන පිස්සුවක්ද? එක්කො බණ අහනවා, නැත්නම් භාවනා කරනව කියල පැත්තකට වෙලා ඇස් පියාගෙන ඉන්නවා. මොන කම්මැලි වැඩද ඕවා! මොන දුකක්ද මේ විඳින්නෙ?"



මෙහෙම කියන කෙනෙකුට ප්‍රථම ධ්‍යානයට සමවද්දවන්න ක්‍රමයක් එහෙම තියෙනව නම්, ඒ අත් දැකීම ලැබුව නම් එහෙම නැවතත් ඔහොම කියන්නෙ නෑ. ඒක නිවන් සුවය නොවුනත් කාම ලෝකෙ තියෙන සියලුම සුව ඉක්මවා ගිය අවස්ථාවක්. ඒකට කිසිම වියදමක් යන්නෙ නෑ. නමුත් කාම ලෝකෙ ආස්වාද මාත්‍රයක් ගන්න කොච්චර වෙහෙසෙන්න ඕනද? දැන් මේ උදේ ඉඳන් මහන්සි වෙලා වැඩ කරන්නෙ ඇයි? අද කාලෙ ජීවත් වෙන විවාහක රැකියාවක නියුතු කාන්තාවකගෙ දින චරියාව අරගෙන බලමු.

උදේම අමාරුවෙන් අවදි වෙනවා. මොනව හරි උයා පිහාගෙන ළමයින්ව ලෑස්ති කරල ඉස්කෝලෙ යවනවා. ඊට පස්සෙ සැමියගෙ වැඩ ටිකත් කරල ලක ලෑස්ති වෙලා වැඩට යන්න බස් එක නැත්නම් කෝච්චිය අල්ල ගන්න දුවනවා. බස් එකේ තෙරපිලා ගුලි වෙලා අනෙක් මගියොත් එක්ක රණ්ඩු වෙලා කොහොමහරි කාර්යාලයට යනවා. එතකොට වෙලාව පැනල, රතු ඉර ගහල. දැන් ඉතින් එක්කො බස් එකට බනිනවා. එහෙම නැත්නම් වාහන තදබදයට බනිනවා. නැත්නම් ආයතන ප්‍රධානියාට බනිනවා. තමන් ඇරෙන්න අනෙක් ඔක්කොම වැරදියි. තවම වැඩ පටන් ගත්තෙත් නෑ. දැනටමත් දවස එපා වෙලා. ඊට පස්සෙ ආයතනයට බැන බැන වැඩ කරල හවසත් අමාරුවෙන් බස් එකක් අල්ලගෙන ගෙදර එනවා. එන ගමන් කඩේට ගිහින් ගෙදරට අවශ්‍ය බඩු මුට්ටු ගන්නවා.

දැන් නැවතත් ගෙදර ඇවිත් අස් පරස් කරල ළමයින්ගෙ වැඩ පළ කරල රෑට මොනව හරි උයනවා. වැඩ පළ ඉවරවෙලා පොඩ්ඩක් විවේකයක් ගන්න කියල රූපවාහිනිය ළඟ වාඩිවෙනවා. එතනත් ලොකු පොරයක්. තමන්ට ඕන එක බලන්න විදිහක් නෑ. මොකද එක් කෙනෙක් බලන්න කැමති එක නෙවෙයි තව කෙනෙක් බලන්න කැමති. අන්තිමට නිදා ගන්න යනවා. දැන් ඔබට කියන්න පුළුවන්ද, මේ දවස පුරා කොයි වෙලාවෙද සැපක් වින්දෙ කියල. හැබැයි මේ ඔක්කොම කරන්නෙ සැප බලාගෙනම තමයි. මේ සැප බලාපොරොත්තුවෙන් ගත කරපු දවස ඇතුලත වැඩියෙන් හිටියෙ ලෝභයෙන් ද්වේශයෙන් මෝහයෙන් මිසක් අලෝභයෙන් අද්වේශයෙන් අමෝහයෙන් නෙවෙයි. ඒ කියන්නෙ දවසෙ වැඩි ප්‍රමාණයක් තුල 99% ක් විතර කරල තියෙන්නෙ පව්. දැන් මැරුණට පස්සෙ සුගතියක්වත් බලාපොරොත්තු වෙන්න පුළුවන්ද?

දැන් මේ විස්තර කළේ කාමයේ ආදීනව. මේ බව මජ්ජිම නිකායේ පළවන කාණ්ඩයේ, 200 පිටුවේ එන මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රයේ මැනවින් විස්තර කරල තියෙනවා. ඒ විස්තර කරල තියෙන්නෙ බුදු පියාණන් වහන්සේ ජීවමාන කාලයේ සමාජයට ගැලපෙන විදිහට. ඉහතින් විස්තර කළේ අද කාලයට ගැලපෙන විදිහට. මේ එක උදාහරණයක්

**අභයරතනාලංකාරය - 65**

# ලාභ කීර්ති ප්‍රසංසාවල භයානකත්වය



**- වහරක අභයරතනාලංකාර හිමි**

ලාභ කීර්ති ප්‍රසංසා කියන මේවා බුදුන් වහන්සේ බිලියකට, ඇමකට උපමා කරල තියෙනවා. ඒ කියන්නෙ ඒවාට ගිජුවෙන්න ගියොත් බිලී කොක්කෙ අමුණපු ඇමට අහුවෙන මාළුවා වගේ නහින්න වෙනවා. මොකද මිනිස්සු ඒවාට ගිජු වෙලා නොයෙක් දස අකුසල් කරන්න පටන් ගන්නවා. උන් හිටි තැන් පවා අමතක වෙනවා. කිසිම ලැජ්ජාවක් බයක් නැතිව යනවා. ගුණ ධර්ම හඳුනන්නෙ නැතිව යනවා. ඒ තරම් භයානකයි.

තමන්ට තියෙන ලාභයක් කීර්තියක් ප්‍රසංසාවක් ලෝකයාගෙන් රැකගන්න හෝ තමන්ට නැති ලාභයක් කීර්තියක් ප්‍රසංසාවක් ලෝකයෙන් ලබාගන්න හෝ කෙනෙක් ගිජු වෙලා කටයුතු කරන්න පුළුවන්. එහෙම ගිජු වෙලා ඒවාට විරුද්ධව ගැටීම් එනකොට දස අකුසලයට බහිනවා. ඊට පස්සෙ ඒකෙන්ම වැනසෙනවා. සමහරවිට ඒ වැනසීම සසර කල්ප කාලාන්තරයක් විපාක දුකකට කොටු වෙන්න සිද්ධ වෙන විදිහෙ එකක් වෙන්නත් පුළුවන්.

විශේෂයෙන් බුද්ධ සාසනයත් එක්ක කටයුතු කරද්දි ඒ කාරණය බොහොම බරපතලයි. ඒ නිසාම තමයි බුදුන් වහන්සේ ඒ කාරණය විශේෂ කොට දේශනා කරල තියෙන්නෙ.

ඉතිං මේ ලාභ කීර්ති ප්‍රසංසාවලට ගිජු වුනාම කෙනෙක් ගුණ දහම් වඩපු උත්තමයන්ටත්, ඒ උත්තමයන් විසින් කරගෙන යන සත් කටයුතුවලටත් පහර ගහන්න පුළුවන්. හැබැයි ඒකත් ඒ උත්තමයන්ගෙ ☞ විතරයි. මේක ඔබ අද ගත කරන ජීවිතයට ආදේශ කරල බලල ඔබේ තත්ත්වය වටහා ගන්න.

බුදු පියාණන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයේ එක අවස්ථාවක රජ කෙනෙක් පැවිදි වෙලා ටික කාලයකින් අනාගාමී බවට පත් වුනා. ඊට පස්සෙ උන්වහන්සේ නිතර නිතර අහෝ සුඛයි! අහෝ සුඛයි! කියල කියන්න පටන් ගත්තා. ඒක අනෙක් භික්ෂූන් වහන්සේලාට ප්‍රශ්නයක් වුනා. උන් වහන්සේලා හිතුවෙ, මේ භික්ෂූන් වහන්සේ එදා විඳපු රජ සැප මතක් වෙලා දුන් දුක් වෙනව ඇති කියල. ඉතින් මේ කාරණය බුදුන් වහන්සේ ළඟට ගිහින් දැනුම් දුන්නම, උන්වහන්සේ මේ භික්ෂූන් වහන්සේගෙන් ප්‍රශ්න කළා, ඇයි එහෙම කියන්නෙ කියල. උන්වහන්සේට එදා රජ කාලෙ විඳපු දුක් දාහයත්, දැන් ආර්ය භූමියේ තියෙන සුවයත් මතක් වෙනකොට ඉබේටම අහෝ සුඛයි කියල කියවෙන බව ප්‍රකාශ කළා. අන්න ඒක තමයි ආර්යන් විඳින සැප. හැබැයි පෘතජ්ජනයින්ට ඒ කාරණය කොහොමටවත් වටහ ගන්න බෑ. ආර්යන් විතරයි ඒක දකින්නෙ.

**බුද්ධෝත්පාද කාලයක සුගතියක ඉපදෙන්න ලැබෙන්නෙ බොහොම කලාතුරකින්. පසුගිය මහා කල්ප 90 ටම පහල වෙලා තියෙන්නෙ බුදුවරු හත් නමයි. එයිනුත් බුදුවරු හතර නමක්ම පහල වෙලා තියෙන්නෙ අපි මේ දැන් ඉපදිලා ඉන්න මහා භද්‍ර කල්පයේ. ගෞතම බුද්ධ සාසනයත් දැන් අවුරුදු 2600 ක් ගිහින් ඉවරයි. ඒ නිසා මේ කල්පයේ ඔබට නිවන් දකින්න ලැබෙන අවසාන අවස්ථාව මේක වෙන්න පුළුවන්. ඔබ මේ අත්බවෙන් පස්සෙ නිරයකට එහෙම ගියොත් ඔබට මෛත්‍රී බුදු පියාණන් වහන්සේ දකින්නවත් ලැබෙන එකක් නෑ. බුද්ධෝත්පාද කාලයක ඉපදිලා සත් ධර්මයත් විද්‍යමානව පවතින මේ වෙලාවෙ ඔබ නිවන් දකින්න උත්සාහ කළේ නැත්නම් ඒ තරම් මෝඩ වැඩක් තවත් නෑ.**

දැන් ඔබට හිතෙන්න පුළුවන් අපි කොහොමද නිවන් දකින්නෙ, ඒකට පාරමිතා පූර්ණ වෙලා තියෙන්න ඕනනෙ කියල. ඒ වගේම ත්‍රිහේතුක පටිසන්ධි ලාභියෙක් වෙන්නත් ඕනනෙ කියල. ඔබට පාරමිතා පූර්ණ වෙලාද, ඒ වගේම ඔබ ත්‍රිහේතුක පටිසන්ධි ලාභියෙක්ද කියල දැනගන්න ක්‍රමයක් අද නෑ. මොකද ඒක හරියටම එල්ල කරල කියන්න පුළුවන් වෙන්නෙ ලොව්තුරා බුදු කෙනෙකුට විතරයි. ඒ නිසා ඔබට තියෙන්නෙ ශ්‍රී සත් ධර්මය ශ්‍රවණය කරන එක විතරයි. ධර්මය වැටහුනොත් ඔබේ පාරමිතා පූර්ණයි, ඔබ ත්‍රිහේතුකයි කියල දැනගන්න පුළුවන්. කොහොම වුනත් ඒ උත්සාහයෙන් ඔබට අවැඩක් වෙන්නෙ නෑ. අඩුම ගානෙ ධර්ම ශ්‍රවණය තුලින් ඊළඟ අත්බවය ත්‍රිහේතුකව ඉපදෙන්න වාසනාව ලැබේවි. පාරමිතා පූර්ණ වෙන්නත් උපකාර වේවි. එතකොට අහන ධර්මය එදාට වටහා ගන්න පුළුවන් වෙයි.

ඉතිං අනිච්චතාව විවිධ පැතිකඩවල් ඔස්සේ විස්තර කළ මේ ලිපි පෙළේ එක් අදියරක් මෙයින් අවසන් කරනවා. ඔබ හැමදෙනාම අනිච්ච අවබෝධය තුලින් නිර්වාන ශාන්තිය උදාකර ගනිත්වා !

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ - 0777 302407**

කර්ම වේගයත් එක්ක සම්බන්ධ වෙලාම තමයි සිද්ධ වෙන්නෙ. මොකද සියල්ලටම කර්මය මුල් වෙනවා. නමුත් ඒක වෙනම කාරණයක්. අන්‍ය පරිබ්‍රාජකයො තමන්ට ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන් සුන්දර පරිබ්‍රාජිකාව මරල වැල්ලෙ වළ දාල බුදුන් වහන්සේට චෝදනා කිරීමත්, චිංචිමානවිකාව බඩේ දර මිටියක් බැඳගෙන ඇවිත් අභූත චෝදනා කිරීමත්, තමන් වහන්සේගෙ පෙර අකුසල කර්ම වේගත් එක්ක සම්බන්ධයි කියල උන්වහන්සේම දේශනා කරල තියෙනවා. නමුත් මේ කියන්න යන්නෙ ඒක නෙවෙයි. ලාභ කීර්ති ප්‍රසංසාවලට ගිජු වුනාම මිනිස්සු තිරිසන් විදිහට ක්‍රියා කරල තමන්ගෙ මාර්ගය විතරක් නෙවෙයි, අන්‍යයන්ට යහපත උදා කරගන්න තියෙන මාර්ගයත් වහල දාන්න පුළුවන්.

මේ වගේ අවස්ථාවකට අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දි මුහුණ දෙන්න වෙච්ච සිද්ධියක් තමයි මේ විස්තර කරන්නෙ. පුද්ගලිකව නම් ගම් හෙළිදරව් කිරීම ගැලපෙන්නෙ නැති නිසා ඒ සිද්ධිය විතරක් උන්වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

සමාධිමය කවියෙන් කරන විශේෂ බෝධි පූජාව මම ඉස්සෙල්ලම පටන් ගත්තෙ 1997 වර්ෂයේ පොල්ගහවෙල උඩපනලිය කියන ප්‍රදේශයේ විහාරස්ථානයක් මුල් කරගෙන. ඒ තමයි මංගල බෝධි පූජාව. ඒ දක්වා මම එහෙම බෝධි පූජාවක් කරල තිබුනෙ නෑ. විවිධ අපල උපද්‍රවවලට, ලෙඩ දුක් කරදරවලට මගෙන් ප්‍රතිකාර ගන්න එන අයටත්, පොදුවේ ඒ අවට ගම්වාසීන්, රටවැසියන් ඇතුළු සියළු ලෝවාසීන්ටත් ආශිර්වාද කරන්න, පිංපෙත් පමුණුවන්න තමයි ඒ බෝධි පූජාව කළේ. ඉස්සර යමක් කරන්න පෙර, මෙහෙම දෙයක් කරන්න පුළුවන් කියල සමාධියෙන්ම මට අදහස එනවා. කරන්න පුළුවන් නම් කල් තියාම දැනුම් දෙනවා. බැරි නම් බෑ කියලත් දැනුම් දෙනවා. ඉතිං ඒ විදිහට තමයි මංගල බෝධි පූජාවත් ලෑස්ති කළේ. ඒ හිටපු පින්වත් පිරිස මම කියපු විදිහටම සෙත් පැන්, බුද්ධ පූජාව... ආදිය සියල්ල ලෑස්ති කළා. ඉන්න පිරිසට මදි නැතිව බෙදල දෙන්නත් එක්ක මහ විසාල තඹ හැලියක තමයි පැන් පිරෙව්වෙ. ඒ ඔක්කොම සමාධියට නැගිච්ච ක්‍රම. හැබැයි ලෞකික අභිවෘද්ධියටත් ප්‍රත්‍ය සකස් කරන ගමන් අන්තිමට නිවන් දකින දහමක්ම තමයි කවියෙන් ගෙතිල ආවෙ. ඒ කාලෙ කරපු හැම එකක්ම එහෙමයි.

ඉතිං ඒ පන්සලේ හිටපු නායක හාමුදුරුවොත් බොහොම හොඳ කෙනෙක්. හැබැයි කකුලක් මහ විසාල කොස් කොටයක් තරමට ඉදිමිලා අසනීපයෙන් හිටියෙ. ඒ ඉදිමිලා තිබ්ච්ච හැටියට එහෙම ලේසියෙන් සාමාන්‍ය බේතක් දීල හොඳ කරන්න පුළුවන් එකක් නෙවෙයි. මේ මංගල බෝධි පූජාවෙන් ලැබිච්ච සෙත් පැන් වැඩිපුරම පාවිච්චි කළේ උන්වහන්සේ තමයි. ඉතිං ඇතිවෙන්න ඒ සෙත් පැන් බෝතල්වලට පුරවගෙන පන්සලේ තියාගෙන තිබුනා. පොඩි පැන් පිපාසයක් හැදුනත් සෙත් පැන් ගෙන්නගෙන ඒක තමයි වැළඳුවෙ. ඊට අමතරව වෙන මුකුත් ප්‍රතිකර්මයක් කළෙත් නෑ. මම ටික දවසකට පස්සෙ මුණගැහිල බලනකොට අර ඉදිමුම හොයාගන්නත් බෑ. මම ඇහුවම කිව්වා, අර සෙත් පැන් ටික ඉවර වෙනකල්ම වැළඳුවා වෙන මුකුත් ගත්තෙ නෑ කියල. ඉතිං උන්වහන්සේට ඊට පස්සෙ කිසි අමාරුවක් තිබුණෙත් නෑ.

උන්වහන්සේ මේ බෝධි පූජාවට බොහොම භක්තියෙන් සහයෝගය දක්වපු හිමි නමක්. බෝධි පූජාව තියනකොට කඳුළු පෙර පෙරා අඬනවා. ඒ කාලෙ උන්වහන්සේ මම ගැන කතා කරනකොටත් අඬ අඬා තමයි කතා කරන්නෙ. මහත්තයගෙ වටිනකම මට රත්තරන්වලින් කියන්නත් බෑ කියල අඬනවා. ඉතිං අන්තිමට ඒ ස්ථානයේ වැඩසටහන නතර කරන්න සිද්ධ වුනාම, මේ ඉන්න කාලකන්නි ටික ලෑස්ති වෙලා කරපු අපරාදෙක හැටි මහත්තයගෙ කටහඬක්වත් මට අහන්න නැති වුනා කිය කියා අඬනවා. මොකද මගෙන් බණ පදයක් අහන එකක් උන්වහන්සේට ලොකු සැනසීමක් වුනා.

එතකොට ඒ වැඩසටහන නතර කරන්න හේතුව තමයි දැන් මේ කියන්නෙ. ඔය පන්සලේ අවට ගම්වාසී දායක පිරිස් හිටියා. ඒ අය අතර ලාභ කීර්ති ප්‍රසංසාවලට ගිජුවෙලා කල්ලි ගැහිච්ච පිරිසකුත් හිටියා. ඒ අය ගමේ පන්සල් වත්තෙ හැන්දෑ වෙනකල් බෝල ගහනවා, විවිධාකාරයේ සෙල්ලම් කරනවා, පන්සලේ දේවල් කනවා, බොනවා ඔය වගේ දේවල් කර කර හිටිය මිසක් කරපු සාසනික කටයුත්තක් නෑ. ඒ අයට මම කරගෙන ගිය වැඩසටහන් මහ කරදරයක් වුනා. මොකද අපි ඉන්නකොට ඒ අයට වෙනද වගේ සාසනික දේවල් හොරකම් කරන්න බෑ. ඒ අයගෙ සම්බන්ධයකින් පන්සලේ තිබ්ච්ච බුදු පිළිමයකුත් නිධන් හාරන්න ගිහින් කැඩුවා. අන්තිමට පිළිමෙ සිරසත් පිටිපස්සෙන් හැරුවා. හැබැයි මුකුත් ගන්න බැරි වුනා. මොකද ඒ ස්ථානයට නයෙක් එන පාරක් තියෙනවා. ඌ ඇවිත් පාරෙ ඉන්නවා. එහෙම ඉඳපු දවස්වල ඌ ගියපු දූවිලි පාරත් සටහන් වෙලා තියෙනවා. ඉතිං නයා දැකල මේ මිනිස්සු නිධන් හාරන්න ගෙනාපු උපකරණත් දාල බයේ පැනල දිව්වා. ඊට පස්සෙ ඒ වැඩේට අතගැහුවෙ නෑ.

ඉතිං මේ බුදු පිළිමෙ කැඩුවෙ කවුද කියල පන්සලේ හාමුදුරුවන්ටත් හරියට අල්ල ගන්න බැරි වුනා. ඒ පන්සලේ අනුනායක හාමුදුරුවොත් මාත් එක්ක බොහොම හිතවත්. හැබැයි හරි සැරයි. ඉතිං මම පිටගම්කාරයෙක්. මාත් එක්ක තවත් පිටින් ආපු මහත්වරු කිහිප දෙනෙකුත් පන්සලේ නැවතිලා හිටියා. දැන් අර කල්ලි ගැහිච්ච පිරිසට අපේ වැඩසටහන් අල්ලන්නෙ නැති නිසා දවසක් අනුනායක හාමුදුරුවන්ගෙන් ඇහුවා, කවුද මේ පිටින් ගෙනත් තියාගෙන ඉන්න පිරිස කියල. උන්වහන්සේ ඒ වෙලාවෙ පිළිමෙ කඩපු එකේ හිතේ අමාරුවෙන් හිටියෙ. ඉතිං කිව්වා, මම ඒ අයව ගෙනත් තියාගෙන ඉන්නෙ පිළිමෙ කඩපු එවුන්ට ලේ බඩ යන්න සාප කරන්න වස් කවි කියන්න මිසක් වෙන මොනව කරන්නද කියල. මේක කිව්වම ඒ අය තවත් බය වුනා. මාත් එක්ක තිබ්ච්ච තරහත් වැඩි වුනා. ඒ නිසා අපිට විරුද්ධව වැඩ කටයුතු කරන්න පටන් ගත්තා. මොකද නැත්නම් ඒ අයට පන්සලේ තිබ්ච්ච අයිතිවාසිකම් ටිකත් නැති වෙනවා.

දැන් ඉතිං වස් කවි කියන එකෙන් බේරෙන්න මාව පන්නන්න එපැයි. ඒත් මම කියපු වස් කවියකුත් නෑ, මම දන්න වස් කවියකුත් නෑ. මම කවදාවත් ඒ වගේ වැඩ කරලත් නෑ කරන්නෙත් නෑ. නමුත් ඒ අයගෙ තියෙන සැකේට මොකද කළේ, අපිව කොහෙටහරි පන්නල දාන්න ලෑස්ති වුනා. ඉන්න නම් දෙන්න එපා, කොහෙටහරි පන්නල දාමු කියල ගම්මු අතර ප්‍රචාරය කළා. ඉතිං ඒ අය ලෑස්ති වුනා ගම වටේට බොරු කියල ගම්මු රවට්ටන්න. මේකට

ඒ අය විවිධ උපක්‍රමත් යෙදුවා. අපි ගැන විවිධ කටකතා පැතිරෙව්වා. මුන් ඉන්නකල් ගමේ මුකුත් තියාගන්න බෑ, ගම කන්න පිටින් ආපු තක්කඩි මැර කල්ලියක්, ඒ නිසා ඔක්කොම එකතු වෙලා පන්නන්න ලෑස්ති වෙන්න කියල ප්‍රචාරය ඇරියා. ඊට පස්සෙ ගමේ මිනිස්සුත් මුලින් කරුණු කාරණා දන්නෙ නැතිව ඒක අනුමත කළාම, මේ අය මාව වංචාකාරයෙක් විදිහට හංවඩු ගහල මට විරුද්ධව කැලෑ පත්තරත් ගහල බෙදන්න පටන් ගත්තා. මොකද ඒ අයට ඕන වෙලා තිබුනෙ පන්සල මුල් කරගෙන ලාභ කීර්ති ප්‍රසංසා ලබන්න. ඉතිං කැලෑ පත්තරවලට දක්වන ප්‍රතිචාරයත් ඉදිරියේදී බලාගන්න කිව්වා.

දැන් ඉතිං මේ වගේ කැලෑ පත්තරයකුත් මට විරුද්ධව ගහල තියෙනව කියල පිරිස ඇවිත් මාත් එක්ක කිව්වා. ගමේ ප්‍රභුවරුන්ටත් මේ අයගෙ වංචා ගැන අහුවෙලා තියෙන්නෙ, මේ අය ගම කන්න ආපු දාමරික කල්ලියක්, හාමුදුරුවොත් රවට්ටගෙන ඉන්නෙ, මේ අයට ගමේ ප්‍රභුවරු නම් ඉඩ දෙන්නෙ නෑ, ඒ අය මේ ගැන දන්නවා, ඒ නිසා ගමේ ඉන්න සියළු දෙනාම එකතු වෙලා මේ අයව වහාම පලවා හරින්න සහයෝගය දෙන්න... ආදී වශයෙන් කියල තමයි ඒ කැලෑ පත්තරය ගහල තිබුනෙ.

දැන් ඉතිං ඒ සිද්ධියෙන් පස්සෙ ගමේ පිරිස් පන්සල දිහා හිනා වෙවී බල බලා යනවා. කවුරුවත් මුකුත් කියන්නෙත් නෑ. ඊට පස්සෙ ඒ ගමේ පිරිසත් කියන්න ගත්තා, ඇත්ත නේන්නම් මේ අය වැඩක් නැති ඒවනෙ කරන්නෙ පන්සලේ හාමුදුරුවොවත් මේව හොයල බලන්න එපැයි කියල. ඉතිං ඔය ආදී වශයෙන් එක එක කතා කියන්න ගත්තා. මම කිව්ව ඉතිං එහෙනම් ඒ අය ලොක්කො වෙච්චාවෙ, ඒකට මැදිහත් වෙලා මම තවත් දෙයක් ඔප්පු කරන්න යන්න ඕන නෑනෙ, ඔය ඔක්කොම ඒ අය දූනගෙන වගේනෙ කියන්නෙ කියල. අන්තිමට මම කිව්වා, එහෙනම් ඒක එහෙම්ම තිබ්බිචාවෙ, ආයෙ එහෙම දේවල් කියන්න එපා, මම මේ ගමේ ඉන්නෙ නෑ කියල. හැබැයි මට යන්න කියන්න බුලත් ඕනත් නෑ, කඩු කිණිසි ඕනත් නෑ, මම දැන්ම තීරණය කරල ඉවරයි මේ ගමෙන් යන්න කියල මම ගමේ පිරිසට කිව්වා. හැබැයි ගියාට පස්සෙ බුලත් අරන් ආයෙ මා පස්සෙ එන්න එපා කියන්න කියලත් කිව්වා. පන්සලට යන එන ඒ කල්ලියේ හෙංචයියලටත් ඇහෙන්න තමයි මම එහෙම කිව්වෙ.

ඉතිං අහවල් දවසෙ හවස පන්සලේ රැස්වීමක් තියෙනවා, පිරිස එකතු වෙලා ඒකට සහයෝගය දෙන්න කියලත් ඒ කැලෑ පත්තරෙන් ඉල්ලල තිබුනා. මමත් මිනිස්සුන්ට ඔප්පු කරල පෙන්වන්නම් කියල, පන්සලේ අනු නායක හාමුදුරුවොත් දායකයො අතේ පණිවිඩයක් යැව්වා. මමත් ඉතිං ඒ පන්සලේම නැවතිලා හිටපු නිසා, මමත් ඒකෙ පාර්ශවකාරයෙක් නිසා, මාත් එක්ක හිටපු අනික් මහත්වරු දෙතුන් දෙනත් එක්ක මට කොහොමත් ඒ රැස්වීමට යන්න සිද්ධ වුනා. අන්තිමට මහ පිරිසක් පන්සලට ඇවිත් හිටියා. දැන් අර කැලෑ පත්තර ගහල අභූත චෝදනා කරපු පිරිසෙ නායකයා එක පැත්තක ඉන්නවා. මම තවත් පැත්තක ඉන්නවා. පිරිසත් වෙනම ඉන්නවා. පස්සෙ නායක හාමුදුරුවන්ගෙත් අනුදැනුම මත අනු නායකහාමුදුරුවො ඇවිත්, මේ මහත්තය හොඳ කෙනෙක් කියල මා ගැන මුලින්ම හැඳින්වීමක් කළා.



" අහවල් පොලිස් ස්ථානයේ එස්. අයි. මහත්තයයි, අයි. පී. මහත්තයයි මේ අබේරත්න මහත්තයගෙන් මොනවහරි වැඩ කරගෙන ගිහින් ඒවායින් ප්‍රතිඵලත් ලබල තියෙනවා. මටත් ඒ අය තමයි අඬ ගහල කිව්වෙ, අපි දන්න මෙන්න මෙහෙම මහත්තයෙක් ඉන්නවා, යවන්න නම් එපා මැණිකක් වගේ හරිම වටින කෙනෙක් කියල. ගමේ රාළහාමිත් හොයල බලල බොහොම හොඳ කෙනෙක් කියල අනුමත කරල තියෙනවා, තවත් ඈත පළාත්වලින් ආපු තරුණ පිරිස් මේ මහත්තය වටේ ඉන්නෙ මොනවහරි සත්‍යයක් තියෙන නිසානෙ, ඒකවත් මේ අයට තේරුම්ගන්න බැරිද...? "

මේ ආදී වශයෙන් තුන් හතර දෙනෙක් කියපු විස්තරත් එක්ක මේ හාමුදුරුවො ඒ රැස්වීමෙදි අපේ වැඩපිළිවෙල අනුමත කරල කතා කළා. අන්තිමට උන්වහන්සේ කිව්වා, මේ පුද්ගලයා මේ මොනවද කියන්නෙ, මොන ප්‍රභුවරුද ඔහුට ඉන්නෙ, මමත් ඉන්නෙ මේ මහත්තයගෙ පැත්තෙ, ඒ නිසා ඒ මහත්තයගෙ පැත්ත ගත්තත් එකයි මගේ පැත්ත ගත්තත් එකයි කියල. එහෙම කියල, මගේ පිරිස ඉන්නව නම් මේ පැත්තට එන්න, මේ අයව පන්නන්න කියල කියන ඒ මහත්තයගෙ පැත්තෙ ඉන්නව නම් ඒ පැත්තට යන්න, හැබැයි දෙවනුව එකතු වෙන්න එපා කියල, පිරිස කොටස් දෙකකට බෙදෙන්න කිව්වා. දැන් ඉතිං පිරිස තමන්ගෙ පැත්ත තෝරගන්න එපැයි. අන්තිමට බලනකොට පිරිස ඔක්කොම හාමුදුරුවො ඉන්න පැත්තට ආවා. අර කල්ලි නායකයා විතරක් ඒ පැත්තෙ ඉතිරි වුනා. බලනකොට ඔහු වටේ හිටපු අයත් අන්තිමට මග ඇරල ගිහින්. ඔහුට එක පැත්තක්වත් නැතිව ගියා. ඊට පස්සෙ මිනිස්සු ඔක්කොම මහ හයියෙන් හිනා වෙන්න ගත්තා. දැන් ඉතිං අර කියපු විදිහෙ ප්‍රභුවරු හිටිය නම් ඒ අයටත් මහ නින්දාවක් අපහාසයක්. මොකද පිරිසෙන් 99% ක්ම හිටියෙ හාමුදුරුවන්ගෙ පැත්තෙ. ඉතිං ඒක බොරුවක් නෙවෙයි. යථාර්ථයත් ඒකයි.

දැන් ඉතිං මේ විදිහට උපක්‍රමශීලී ක්‍රමයක් අර හාමුදුරුවො අනුගමනය කළාම, මේ මනුස්සය හෙමිහිට දෙකට නැමිල මා ගාවට ඇවිත් කියනවා, අනේ මහත්තයො ගමෙන් යන්න නම් එපා මහත්තය මට කමා කරන්න, මහත්තය ගියොත් මට ගමේ නෙවෙයි ගෙදරවත් ඉන්න හම්බ වෙන්නෙ නෑ කියල. මේකෙන් ගමේ උන් මට අල්ලගෙන ගහනවා, දැනටමත් මොනව කරයිද දන්නෙ නෑ කියල මනුස්සය බැගෑපත් වුනා. මම කිව්ව ඉතිං, ඔබට කරගන්න ඕන වෙනස දැන් ඔබ කරගෙන ඉවරයිනෙ, දැන් මම

මොනව කරන්නද, ඔබ කලින්ම අපිව පන්නන්න ඕන කියල තීරණය කරල ඉවරයි, ඊට පස්සෙ ඉතිං මම මොකක්ද දෙන තීරණය කියල. මගේ තීරණය මොකක්ද, මම යමක් කිව්ව නම් ආයෙ එන්නෙ නෑ කියල එන්නෙ නෑම තමයි.

ඉතිං ඒ රැස්වීමෙදි මමත් කතාවක් කරල අන්තිමට සියළු දෙනාටම පිං අනුමෝදන් කළා, මේ ගමේ පිරිස සහ පන්සල අතර තිබිච්ච අසමගිකම් දුරුවෙලා සමගිය සමාදානය ඇතිවෙන්න මම විසාල සෙත් ශාන්තියක් සහිත පූජාවක් කළා, එතනින් පස්සෙ මහා යහපතක් නැගෙන්න ගන්නවා. හැබැයි මම ආයෙමත් මේ ගමට එන්නෙ නෑ, මේ ස්ථානයේ තවත් ඒ වගේ බෝධි පූජා තියන්නෙත් නෑ, හැබැයි උදව්වක් උපකාරයක් ඕන වුනොත් මම ඉන්න තැනට එන්න පුළුවන්. ඔය ආදී වශයෙන් මම කරුණු පැහැදිලි කිරීමකුත් කළා.

ඉතිං මේ සිද්ධිය ගැන අඩුගානෙ ගමේ පිරිස ඇවිත් නායක හාමුදුරුවන්ට කලින් කියන්න තිබුනා. ඔබ වහන්සේලාගෙ නම් ගම් දාල මෙහෙම කැලෑ පත්තරයක් ගහල තියෙනව කියල ගමේ කවුරුවත් ඒ වෙලාවෙ ඇවිත් කිව්වෙත් නෑ. ඒ දාමරිකයො ගහයි බනියි කියන බයට තමයි ගම්මුත් නොකිව්වෙ. හැබැයි ඒ ගමේ පිරිසත් බෝධි පූජාවට සහභාගි වෙලා හිටපු අය. ඒත් මම කවුද කියල ඒ අය මුලින් දැනගෙන හිටියෙ නෑ. ඒ නිසා මුලින් මම ගැන දන්නෙ නැතිව ගමේ පිරිසත් රැවටිලා තමයි හිටියෙ. පස්සෙ තමයි ඒ අයත් දැනගත්තෙ මේ අහවලා කියල.

එතකොට මේ සිද්ධිය වුනේ මංගල බෝධි පූජාවෙන් පස්සෙ දෙවෙනි බෝධි පූජාවත් තියල දවස් කිහිපයකින්. ඉතිං ඒ වෙනකොට, ළඟ හිටපු තවත් මහත්වරු කිහිප දෙනෙකුත් එක්ක මම ඒ පන්සලේ ආවාස ගෙයි තිබිච්ච වාස්තු ආදී දෝසත් බලල ඒවත් ඉවත් කරල බණ දහම් දෙසන වැඩ කටයුතු, බෝධි පූජා කටයුතු ආදියත් පටන් අරගෙන තිබුනෙ. අපේ ඉන්න පිරිසත් ඒ අඩුපාඩු බලල හදල දුන්නා. ඒ බෝධි පූජා ආදිය පටිගත කරල ඒ පටි යන්ත්‍රවලට දාල, හාමුදුරුවනේ මේක අහන්නකො කියල ඒ අය නායක හාමුදුරුවන්ට ඒව දාලත් දෙනවා. ඒ නිසා ඒ පන්සලේ නායක හාමුදුරුවොත් මේ වැඩ පිළිවෙල ගැන පැහැදිලා බොහොම කැමැත්තෙන් හිටියෙ.

ඊට පස්සෙ ඉතිං ඒ ස්ථානයේ ඒ වගේ වැඩ කටයුතු කෙරුනෙ නෑ. එතනින්ම නතර වුනා. නමුත් නායක හාමුදුරුවො මගෙන් ඉල්ලීම් කළා, අනේ මහත්තයෝ ඔය කාලකන්නි කියන ඒව ගණන් ගන්න එපා උන් කවදත් අසත්පුරුෂයො, ඕකුන්ගෙ හැටි ඔහොම තමයි කියල. මම කිව්ව ඉතිං මගේ තීරණයක් තියෙනවා, ගමේ එක්කෙනෙක් හරි මේකට අකමැති නම් මම ඉන්නෙ නෑ, මට එහෙම ඉන්න ඕන නෑ, මොකද එහෙම ස්ථානයක චිත්ත සමාධියක් වඩන්න බෑ. ඒකට බාධයි. ඒ අයත් එක්ක ඉන්න අමනුස්සයොත් ඇවිස්සෙනවා. ඒ නිසා කාටහරි මොනවහරි සැකයක් මා නිසා ඇතිවෙලා තියෙනව නම් පුළුවන් නම් හොයල බලල, ඔබ මෙන්න මෙහෙම පුද්ගලයෙක් ඒ නිසා අපි අකමැතියි කියල ඇත්ත කියන්න කිව්වා. එහෙම නැතිව අපි කැමතියි, අපි ඒව බලාගන්නම් කියල කවුරුහරි කිව්වට මට එහෙම ඉන්න බෑ.

ඒ නිසා ඒක නිකං පුද්ගලයෙක් කියල හරි යන්නෙ නෑ. යම් කිසි විදිහකට පිළිගන්න පුළුවන් පුද්ගලයො ඉදිරියේ කියන්න ඕන. මොකද මම කවදාවත් ලාභ කීර්ති ප්‍රසංසාවලට යට වෙලා නෑ. මට ගෙදර හිටියත් එකයි පන්සලේ හිටියත් එකයි කොහේ හිටියත් එකයි. ඒ කොහේ හිටියත් මූලික අවශ්‍යතා ටික තියේ නම් මට මේ සාසනික කටයුතු ටික කරගෙන යන්න පුළුවන්. එහෙම නැතුව තැනින් තැන අල්ලගෙන, පිරිස් එකතු කරගෙන, දේපළ එකතු කරන්න මට ඕන නෑ. මොකද මටත් පරම්පරාවෙන් ලැබිච්ච දේපළක් තිබුනා. ඕන නම් අවශ්‍ය කාලෙදි මට ඒක සම්පූර්ණයෙන්ම සංඝයා උදෙසා පූජ කරන්නත් අයිතිය තියෙනව කියල මම ඒ අයට කිව්වා. ඒ නිසා මට කාගෙවත් පැත්තක් අල්ලන්න යන්න ඕන නෑ, නමුත් වැඩි පිරිසකගේ හිතසුව පිණිස යහපතක් සිද්ධ වෙයි කියල හිතලයි මම මේ ස්ථානයේ කටයුතු කළේ කියල මම කෙලින්ම කිව්වා.

ඉතිං අදටත් මම කියන්නෙ මගෙන් වරදක් වෙලා තියෙනව නම් ඔප්පු කරන්න කියල. නැත්නම් චිංචිමානවිකාව වගේ අයටත් පුළුවන්නෙ බඬේ දර මිටියක් බැඳගෙන ඇවිත් චෝදනා කරන්න. නමුත් ඒව කට්ට කපටි සූත්තර. ඒ වගේ දේවල් කරල මොනව කියන්න බැරිද? එහෙම නෙවෙයි, හේතු ඇතිව අවංකව ඔප්පු කරන්න පුළුවන් දෙයක් තියෙන්න ඕන.

ඉතිං මේ කියන කල්ලිය ඊට පෙරත් මං ගැන සැක කරල විවිධ දේ පරීක්ෂා කළා. මම මේ බෝධි පූජා කවි කට පාඩම් කරගෙන කියනවද කියල බලන්නත් ඒ අය විවිධ පරීක්ෂණ කළා. ඒ ස්ථානයේ දෙවෙනි බෝධි පූජාව තියපු දවසෙ විසාල සෙනගකුත් ඇවිත් හිටියා. දැන් මේ පුද්ගලය මොකද කරන්නෙ, මට දිවැස් වගේ යමක් පේන අමුතු හැකියාවක් තියෙනවද කියල බලන්න අර බුද්ධ පූජාවට තියපු දැහැත්විට කන්න ගත්තා. ඒ අයගෙ වටේ හිටපු අයත් දැනුවත් කරල, මට ඒ ගැන යමක් පේනව නම් මම දැන් ඒ ගැන යමක් කියයි කියල හිතල තමයි ඒ අය එහෙම කළේ. මම ඇහුව ඉතිං, මේ දරුවන්ට තේරෙන්නෙ නැත්ද ඕක බුද්ධ පූජාව කියල, ඕක අනිත් අයට කන්න සුදුසු දෙයක් නෙවෙයි, බුද්ධ පූජාවවත් ඉතිරි කරන්නෙ නැතිව කනවනෙ ඒ තරම්ම දුර්වලද කියල. එතකොට පූජාවට ඇවිත් හිටපු අනෙක් පිරිස ඒ අයට හිනා වුනා. ඒකෙන් ඒ අය තවත් සවුත්තු වුනා. ඉතිං ඒ වගේ දේවල්වලින් ඒ අයටමයි අවැඩක් වුනේ.

ඊළඟට පූජාව පටන් ගන්නකොට මයික් එක මම හිටපු තැන තිබුනෙ. පටිගත කරන්න කැසට් පටියකුත් පටිගත කිරීමේ යන්ත්‍රයට දාල තිබුනා. දැන් මේ අයට ඕන වුනා, මම ඒ වෙලාවට සජීවී හඬින් නෙවෙයි බණ කියන්නෙ, කලින් පටිගත කරපු එකක් දාල මම නිකං බොරුවට කට හොල්ලනව විතරයි කියල ඔප්පු කරන්න. ඒ අයගෙ ඒ නිගමනය මිනිස්සු ඉදිරියේ ඔප්පු කරන්න තමයි ඒ අයට ඕන වුනේ. ඉතිං මොකද කළේ, බෝධි පූජාව පටන් ගන්නකල් ඉඳල මේ අය ප්‍රධාන පරිපථයෙන් රැහැනක් ගලවල විදුලිය විසන්ධි කළා. අන්තිමට පටිගත වෙන කැසට් පටියත් නැවතුනා. ඒත් මගේ කටහඬ නවතින්නෙ නැතිව සද්දෙට දිගටම යනවා. මම කිසිම වෙනසක් පෙන්නුවෙත් නැතිව පූජාව දිගටම කරගෙන ගියා. පස්සෙ ඒ අය දැනගත්තා, මේක පටිගත කරපු එකක් නෙවෙයි ස්වභාවික කටහඬින්මයි කරන්නෙ කියල. ඉතිං අර රැස්වීමෙන් පස්සෙ මිනිස්සු ඇත්ත දැනගත්තා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමින් නිවන් මග 05



පසුගිය කලාපයෙන් විස්තර කළේ, නොයෙක් ආකාරයේ දේවතාවන් ඇවිත් ලොව්තුරා බුදුන් වහන්සේගෙන් අහපු ප්‍රශ්න සහ උන්වහන්සේ ඒ දේවතාවන්ට දුන්න පිළිතුරු ගැන. මේ වගේ බොහෝ ප්‍රශ්නවලට දුන්න ධර්මානුකූල පිළිතුරු දේවතා සංයුක්තයේ සඳහන් වෙනවා. ඉතිං මේ ලිපියෙනුත් කතා කරන්නෙ, දේවතාවන් අහපු ප්‍රශ්නවලට ලොව්තුරා බුදුන් වහන්සේ දුන්න පිළිතුරු ගැන. එක්තරා දේවතාවෙක් බුදුන් වහන්සේ ඉදිරියේ මහත් ආලෝකයක් විහිදුවා ගෙන පෙනී සිටියා. එහෙම පෙනී ඉඳල මෙහෙම ප්‍රකාශයක් කළා.

“යමෙකින් යමෙකින් සිත වළක්වා ගන්නේ නම්, ඒ ඒ දෙයින් ඔහුට දුකක් නොපැමිණේ. එබැවින් සියල්ල කෙරෙන්ම සිත වළක්වා ගන්නේ නම් ඔහු සියලු දුකින් මිදේ.” (මනෝ නිවාරණ සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය 1 - 27 පිටුව)

ඉතිං මේක ඒ දේවතාවට තේරුණ හැටියට තමයි කිව්වෙ. බැලූ බැල්මට කාරණාව හරි. දැන් මෙතනදි දුකක් එන්නෙ කොහොමද? අපි වැඩක් කරන්න යනවා. ඒ වැඩේට විරුද්ධව යමක් එනවා. එතැන් පටන් අපි ඒ විරුද්ධව එන දේ එක්ක ගැටෙන්න පටන් ගන්නවා. එතන ඉඳන්ම එන්නෙ දුක. ඔය එක පැත්තක්. යම් කිසි වැඩක් ලේසියෙන් පහසුවෙන් කරගන්න බෑ. මහන්සියක් උත්සාහයක් දරන්න ඕන. කෑමක් හදන්න ගියත්, ගෙයක් දොරක් පිරිසිදු කරන්න ගියත් එහෙමයි. ඒ උත්සාහය වීරිය පහසුවක් නෙවෙයි, අපහසුවක්. කායික දුකක් හෝ එනවා. ඒත් ඒ වැඩේ ඉවර කළාම එන ප්‍රතිඵලය සතුටුදායක නිසා, අර දුක් මහන්සිය විඳ දරාගෙන ඒ වැඩේ කරගෙන යනවා. ඒක සතුටක් නෙවෙයි. ඉතිං කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඒ ඒ දේ කරන්න ගියාම නේ දුක එන්නෙ, ඒකට හිත යොමු කරන්නෙ නැතුව හිටියම ඉවරයිනෙ, සියලු දුකින් මිදෙන්න පුළුවන්නෙ කියල. බැලූ බැල්මට හරි. අර දේවතාවට හිතුනෙත් එහෙම තමයි. නමුත් ලොව්තුරා බුදුන් වහන්සේ දුන්න පිළිතුර ඊට වඩා වෙනස්.

**“සිත සියල්ලෙන්ම නොවළකන්නේය. සංයත බවට පැමිණි සිත නොම වළකන්නේය. යමෙකින් යමෙකින් අකුසල් උපදනේ නම්, ඒ ඒ දෙයින් සිත වළක්වා රැකගන්නේය.”** (මනෝ නිවාරණ සූත්‍රය)

ඉතිං උන්වහන්සේ දේශනා කළේ, සියල්ලෙන් සිත වළක්වන එක නොකළ යුතුයි කියල. මෙතනදි සංයත බවට පැමිණි සිත කියල කිව්වෙ මොකක්ද? ඒකෙන් අදහස් කළේ, යම් කිසි කුසලයක් කරන්න යනකොට එන සිත. ඒ කිව්වෙ පහන් සිත. මේ සිත් පෙළ කොටස් අටකට බෙදෙනවා.

සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත, සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත, සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත සිත, සෝමනස්ස සහගත ඥාන, විප්‍රයුක්ත සසංකාරික සිත, උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත, උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත, උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සිත, උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සසංකාරික සිත

මේ කුසල් සිත් ගැන පසුගිය කලාපවලින් විස්තර කළා. ඉතිං මේ සිතිවිලි වළක්වන්නත් එපා කියල තමයි කිව්වෙ. මොකද දුකක් ආවත් අවසානයේ නිවනින් කෙළවර කරගන්න පුළුවන් නිසා. ධම්ම පද අට්ඨ කතාවේ දේවදත්ත හාමුදුරුවො ගැන අහපු ප්‍රශ්නයකට බුදුන් වහන්සේ දුන්න පිළිතුරක් තියෙනවා. ඒ පිළිතුර මෙතනට හොඳටම ගැලපෙනවා. මේක බොහෝ පින්වතුන්ට තියෙන ප්‍රශ්නයක් වෙන්න පුළුවන්. බෞද්ධයො වශයෙන් අපි හැමෝම එක්තරා මට්ටමකට ලොව්තුරා බුදුන් වහන්සේගෙ ඥාන ගැන අහල තියෙනවා. අනුමානයෙන් හෝ අපට හිතාගන්න පුළුවන්. ඉතිං උන්වහන්සේගෙ තුන් කල් දකින ඥානය ගැනත් අපි අහල තියෙනවා.

ප්‍රශ්නය වුනේ, දේවදත්ත හාමුදුරුවො මේ විදිහට ආනන්තරීය අකුසල් කරගන්න බව දැන දැනත්, ඇයි ඔබ වහන්සේ දේවදත්ත කුමාරයව මහණ කළේ කියල. ඒක ඕනම කෙනෙකුට හිතෙන්න පුළුවන් ප්‍රශ්නයක්. එතකොට ලොව්තුරා බුදුන් වහන්සේ ඒකට දුන්න පිළිතුර මොකක්ද? දේවදත්ත හාමුදුරුවො මෙහෙම කරගන්නව කියල මම දන්නවා. ඒ වගේම අවසාන මොහොතේ හරි දේවදත්ත හාමුදුරුවො මා කෙරෙහි, තුනුරුවන් කෙරෙහි පැහැදෙනව කියලත් මම දැනගෙන හිටියා. ඒ පැහැදීම නිසාම මෙයින් කල්ප ලක්ෂයකට පසුව පසේ බුදුවරයෙක් වෙනවා. දේවදත්ත හාමුදුරුවො ගිහිව හිටිය නම් මට ඒ පිහිට උන්වහන්සේට දෙන්න වෙන්නෙ නෑ.

ඉතිං ඒක උන්වහන්සේ මහා කරුණා ඥානයෙන් දැකල ගත්ත තීරණයක්. ඒ වගේම තමයි මේ කුසල් සිත්. අපට පින්කමක් කරන්න හෝ බණක් භාවනාවක් කරන්න හෝ හිතෙනවා. එතනට යන එක, යන විදිහ දුකක් වෙන්න පුළුවන්. අනේ නොගිය නම් ඒ දුක නැහැනෙ කියන වගේ අදහසක් එන්න පුළුවන්. අන්න ඒ වගේ අදහසක් තමයි අර දේවතාවා කිව්වෙ. නමුත් බුදුන් වහන්සේ දේශනා කළේ, අන්න ඒ ජාතියේ සිතිවිලි වළක්වන්න එපා, දුකක් එන්න පුළුවන් නමුත් අවසාන ප්‍රතිඵලය මහත් ඵලයි මහානිසංසයි කියල. අපදාන පාළිය පුරාවටම තියෙන්නෙ මේ ජාතියේ කුසල් සිත් මූලික කරගෙන කරපු යහපත් ක්‍රියා. ඒ සියල්ලේම අවසාන ප්‍රතිඵලය වුනේ අරිහත් ඵලය.

ඒ වගේම වැළකිය යුතු සිත උන්වහන්සේ පැහැදිලිවම දේශනා කළා. ඒ තමයි අකුසලයකට මුල් වෙන සිත, කාටහරි අවැඩක් අසාධාරණයක් කරන සිත. අන්න ඒ සිතිවිලි නම් අනිවාර්යෙන්ම වැළකිය යුතුයි. ඒවායේ අවසාන ප්‍රතිඵලය නම් හොඳක් වෙන්නෙ නෑ. ඒක පැහැදිලියි. ඒ වගේම තවත් දේවතාවෙක් ඇවිත් මෙහෙම ප්‍රශ්නයක් අහනවා.

"ඇතුළත අවුල්ය. පිටත අවුල්ය. සත්ත්ව ප්‍රජාව අවුලෙන් වෙළුනීය. එහෙයින් ගෞතමයන් වහන්ස, කවරෙක් මේ අවුල නිරවුල් කරන්නෙහිද? (ජටා සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය - 1, 27 පිටුව)

දැන් මේ දේවතාවා ඇහුවෙ හරිම ගැඹුරු ප්‍රශ්නයක්. ඇතුළත් අවුල්. පිටතත් අවුල්. සත්ත්ව ප්‍රජාව අවුලෙන් වෙලිල. මොකක්ද මේ දේවතාවා කිව්ව අවුල? ඒ වගේම පොදුවේ මුළු සත්ත්ව ප්‍රජාව ගැනමයි අදහස් කරල තියෙන්නෙත්. සතුටින් ඉන්න ධනවත් කෙනෙක් දිහා බලල කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ මනුස්සයට සියල්ලම තියෙනවනෙ මොකක්ද තියෙන අවුල කියල. නමුත් දේවතාවට හැඟීමක් තිබුනා, ඇතුලත් අවුල් පිටතත් අවුල් කියල. මොකක්ද මේ ඇතුල, පිටත? කොහොමද අපි ඒක තේරුම් ගන්නෙ? අපි එදිනෙදා පාවිච්චි කරන වචන තියෙනවා. "සේරම අවුල් වුනා. ඇයි තැවුලෙන් වගේ ඉන්නෙ?" මේ වචන සේරම පාවිච්චි කරන්නෙ මොකක් හෝ කරදරයක් වුනාම.

ඒ කරදරය තව තවත් ඔඩු දිව්වම අවුල් වියවුල් වුනා කියල කියනවා. මේ සේරම කියන්නෙ, කරගන්න තියෙන දෙයක් හරියාකාරව කරගන්න බැරි වුනාම. එහෙම වුනාම හිතට සතුටක්ද දුකක්ද දැනෙන්නෙ කියල අපි කල්පනා කරල බලන්න ඕන. හිත දුකෙන් පිරිල. කරන කියන දෙයක් නිච්චි නෑ. හිත ඇතුල අවුල් වෙලා. මෙන්න මේකයි ඇතුලත් අවුල් කිව්වෙ. කෙනෙක් රාගයෙන් බැඳිල ඊට විරුද්ධව එන දේට ද්වේශයෙන් දැවෙනවා, තැවෙනවා, මෝහය නිසා තේරෙන්නෙ නෑ. නැවත නැවතත් ඒ දේටම උත්සාහ කරනවා වීරිය කරනවා. මේ රාග, ද්වේශ, මෝහ නිසා ඇතුලතින් සත්ත්වයා නිතරම අවුලෙන් ඉන්නෙ. සසර ගමන යන්නෙ මේ අවුල නිසා.

එතකොට පිටත අවුල් කිව්වෙ මොකක්ද? මේ අවුල නිසා අපි තව තවත් ගොඩ නගන දේවල් තියෙනවා. ඇහැක් තියෙනව නම් බලන්න රූප ඕන. මේ රූප ප්‍රිය මනාප වෙන්න පුළුවන්, අප්‍රිය අමනාප වෙන්න පුළුවන්. නමුත් මේ රූපවලට උරුම වුන පොදු දෙයක් තියෙනවා. ඒ පොදු දේ තමයි, හටගත්ත දේක තියෙන ධර්මතාවය. එක්කො කැඩිල බිඳිල විනාස වෙලා යනවා. එහෙම නැත්නම් කවුරු හරි කඩල බිඳල විනාස කරල දානවා. හැමදාම එක විදිහට තියෙන්නෙ නෑ. ඉතිං ඒ හැම දෙයක්ම ජරාවට පත්වෙනවා, මරණයට පත්වෙනවා. එහෙම නැත්නම් විනාස වෙලා යනවා. මේ අවුලෙන් තමයි බාහිර වස්තු තියෙන්නෙ. ඒ නිසයි කිව්වෙ පිටතත් අවුල් කියල. දේවතාවා ඊළඟට ඇහුවෙ, මේ දේවල් කරගන්න ගිහින් සසර පුරා පැටලි පැටලි ඉඳල ලිහා ගත්ත කෙනෙක් ඉන්නවද කියල. ඉතිං බලමු ලොව්තුරා බුදුන් වහන්සේ මේ දේවතාවට දීපු උත්තරේ මොකක්ද කියල.

"පිළිසඳ නුවණ ඇති කෙළෙස් තවන වෙර ඇති තීරණ ප්‍රඥායෙන් යුත් සසර බිය දක්නා සුලු ඒ සත්ත්ව තෙමේ සීලයෙහි පිහිටා සමාධිය හා ප්‍රඥාව වඩමින් මේ අවුල නිරවුල් කරන්නේය. (ජටා සූත්‍රය)

මේ අවුල ලිහා ගන්න ඕන නම්, ඒ සත්ත්වයෙක් කළ යුතු හෝ ඒ සත්තවයෙකුට තිබිය යුතු දේවල් උන්වහන්සේ දේශනා කරනවා. මූලිකම දේ තමයි පිළිසිඳ නුවණ. මොකක්ද මේ පිළිසිඳ නුවණ කියන්නෙ? නුවණ කියන වචනය අපි දන්නවා. මෙතනදි ඥානයක් තමයි උන්වහන්සේ අදහස් කළේ. එතකොට පිළි කියන්නෙ මොනවද? සාමාන්‍ය ව්‍යවහාරයේ නම් පිළි කියල කියන්නෙ කෙනෙක් ඇඳගෙන ඉන්න දේට. ඒ ඇඳගෙන ඉන්න දේ අනුව ඒ කෙනා කවුද කියල බාහිරින් බලල කියන්න පුළුවන්. මහ කිළුටුවට වැරහැලි වගේ ඇඳගෙන ඉන්නව නම්, බොහෝ දුරට අපට නිගමනය කරන්න පුළුවන් මේ ඉන්නෙ කාත් කවුරුවත් නැති මනුස්සයෙක්, එහෙම නැත්නම් හිඟන කෙනෙක් කියල. සමහර අය ඇඳගෙන ඉන්න දේ අනුව, මේ පුද්ගලයා දොස්තර කෙනෙක්, හෙදියක්, පොලිස් නිලධාරියෙක්, ගුරුවරයෙක් කියල නිගමනය කරන්න පුළුවන්.

ඒ වගේම කෙනෙක්ව රවටල ඇවිත් කියන්න පුළුවන්, අන්න මම එයාව හොඳට ඇන්දුවා දැන් මිනිහ හොඳටම ඇන්දිලා ඉන්නෙ කියල. ඒ වගේම තමයි ලෝක සත්ත්වයාත් සසර පුරා ගමන් කරන්නෙ රාගයෙන් ඇන්දිලා, ද්වේශයෙන් ඇන්දිලා, මෝහයෙන් ඇන්දිලා. ඒ ඒ ඇන්දිච්ච ප්‍රමාණයන් අනුව අර කලින් කිව්ව හිඟන්නා, දොස්තර, හෙදිය වගේ විවිධ ජාතිවල අය ඉන්නවා. මේවා සුගති ජාති වෙන්න පුළුවන්, දුගති ජාති වෙන්න පුළුවන්. නමුත් ලොව්තුරා බුදුන් වහන්සේගෙ ශ්‍රී මුඛ දේශනාවලට අනුව, ඒ ගැන නුවණින් හිතල බැලුවොත් වැඩිපුරම ඉන්නෙ දුගති ජාතිවල.

ඉතිං මේ ඇඳගෙන ඉන්න එක අපි ගලවන්න ඕන. රාගයෙන් ඇඳගෙන ඉන්නව නම්, ද්වේශයෙන් ඇඳගෙන ඉන්නව නම්, මෝහයෙන් ඇඳගෙන ඉන්නව නම් ඒ දේ ගලවල විසි කරන්න ඕන. එහෙම නැත්නම් සිඳල දාන්න ඕන. මේක නිකං කරන්න බෑ. ඒ දේ කරන්න නම් නුවණක් ඕන. මේ නුවණ පහළ වුනාමයි, මම මොන තරම් ඇන්දිලාද ඉඳල තියෙන්නෙ කියල වැටහිලා අරක ගලවල විසි කරල දාන්නෙ. ඒ නුවණ නිකං පහළ කරගන්න බෑ. කල්‍යාණ මිත්‍ර ඇසුර තියෙන්න ඕන. ඒ ඇසුරෙන් දහම් ශ්‍රවණය කරන්න ඕන. ඒ ශ්‍රවණය කරපු දහම් නැවත නැවත මෙනෙහි කිරීමෙන් ප්‍රතිපදාවකට, ක්‍රියාවකට බහින්න ඕන. එතකොටයි මේ නුවණ පහළ වෙන්නෙ. මේ පහළ වුන නුවණින් තමයි දකින්නෙ, තමන් ඇන්දිලා හිටපු තරම.

අන්න ඒ ඇන්දිලා හිටපු එක ගලවල විසි කරල දාන එකට තමයි පිළිසිඳ නුවණ කියල කිව්වෙ. ඒකෙන් පුළුවන් මේ අවුල ලිහන්න.

මේ අවුලත් ලිහෙන්නෙ ඒ ඒ මට්ටම්වලින්. සෝවාන් ඵලය තෙක් ඇතුලතින් අවුල ලිහුන නම්, ඒ කියන්නෙ සතර අපාගත වෙන මට්ටමේ අවුලෙන් සෝවාන් ඵලය ලැබුනම ලිහිල, ඒ ලිහුන ප්‍රමාණයෙන්, බාහිර දේට තියෙන අවුල නිසා එන ඇලීම ගැටීම නෑ. ඒ ආකාරයෙන් අරිහත් ඵලය දක්වාම ටික ටික ඒ ඒ පුද්ගලයන්ගෙ වේගයෙන් මේ අවුල තනියම ලිහාගෙන යනවා. අවසානයේ සියලු අවුල් ලිහුන තත්ත්වයට පත්වෙනවා.

ඉතිං ඊට පස්සෙ ලොව්තුරා බුදුන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. "යම් කෙනෙකුන් විසින් රාගයත් ද්වේශයත් අවිද්‍යාවත් දුරු කරන ලද්දාහුද, (ඔහු) ක්ෂීණාශ්‍රව රහත්හුය. ඔවුන් විසින් තෘෂ්ණා නමැති අවුල නිරවුල් කරන ලදී. යම් තැනක නාමයත් රූපයත් ප්‍රතිඝයත් (පටිඝය) රූප සංඥාවත් නිරවශේෂයෙන් නිරුද්ධ වේද්ද, මෙහි මේ තෘෂ්ණා නමැති අවුල සිඳේ." (ජටා සූත්‍රය)

දැන් අවුල මොකක්ද කියල පැහැදිලියි. ඒ විදිහට රාගය, ද්වේශය, මෝහය සම්පූර්ණයෙන්ම දුරු කළා නම් අවුල ලිහෙනවා. එහෙම ලිහපු අයට කෙළෙස් රහිත අරිහතුන් වහන්සේ කියල කියනවා. උන්වහන්සේලා ඇතුලත අවුල සම්පූර්ණයෙන්ම ලිහල ඉන්නෙ. ඉතිං පිටත අවුල තිබුනට ප්‍රශ්නයක් නෑ, පැටලෙන්න යන්නෙ නෑ. උන්වහන්සේලාට එහෙම පැටලෙන්න ඕන කරන රාගය, ද්වේශය, මෝහය සම්පූර්ණයෙන්ම ක්ෂය වෙලා තියෙන්නෙ. හරියට උපමාවකින් මේ විදිහට කියන්න පුළුවන්. යම් කිසි කෙනෙක් නූලකින් ගැට ගහල කොකු තුනක් අතේ තියාගෙන ඒ කොකු එහාට මෙහාට වනනවා. ඒ අහල පහල වේවැල්වලින් හදපු බෝල දහස් ගණනක් තියෙනවා. ඉතිං මේ කොකු තුන නිසාත්, ඒවා වටේට කරකවන නිසාත්, අර වේවැල් බෝල ඕන තරම් කොකුවල ඇමිනිලා එන්න පුළුවන්. නමුත් කොකු තුන අහකට විසි කරල නූල විතරක් කොච්චර කැරකුණත්, කොච්චර බෝල තිබුණත් ඒ එකක්වත් පැටලෙන්න හේතු නෑ.

ඒ නිසා රහතන් වහන්සේට ඇස තියෙනවා, බාහිර රූප තියෙනවා, උන්වහන්සේට පේනවා, ඒත් බලන්න උවමනාවක් නෑ. කන තියෙනවා, බාහිර ශබ්ද තියෙනවා, උන්වහන්සේට ඇහෙනවා, ඒත් අහන්න උවමනාවක් නෑ. ඒ වගේමයි දිවට රසත් දැනෙනවා, ඒත් රස විඳින්න උවමනාවක් නෑ. ඔය විදිහට නාසයට ගඳ සුවඳත්, කයට පහසත් ගන්න පුළුවන්.

ඉතිං ඒ හේතුවෙන් උන්වහන්සේ පමණයි අවුලක් නැතිව ඉන්නෙ. ඒ ඇතුලත අවුල් සියල්ල ලිහාගත්ත නිසා. ඒ තමයි අරිහතුන් වහන්සේගෙ ස්වභාවය. ඒ ස්වභාවය ගැන කතා කරන කොට උන්වහන්සේලා රාගය, ද්වේශය, මෝහය සම්පූර්ණයෙන්ම ක්ෂය කරල ඉන්නෙ. නමුත් උන්වහන්සේලා පිරිනිවන්පාන මොහොත දක්වා ලෝකයත් එක්ක ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතුව ගනුදෙනු කරනවා. ලොව්තුරා බුදුන් වහන්සේ ඉදිරියේ, සියල්ලෙන් සියල්ල කරල හමාරයි කියල උන්වහන්සේලා තමන් වහන්සේලාගෙ අරිහත් ඵලය ප්‍රකාශ කරනවා. කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම සියල්ල කරල හමාර නම් ඇයි උන්වහන්සේලා පිණ්ඩපාතෙ වඩින්නෙ, අනෙක් වැඩකටයුතු කරගන්නෙ, ඒවත් සියල්ලට අයිතියිනෙ කියල. නමුත් මෙතනදි උන්වහන්සේලා සියල්ලෙන් සියල්ල කියල අදහස් කරන්නෙ, කෙලෙස් සියල්ල. එහෙම නැත්නම් රාග, ද්වේශ, මෝහ සියල්ල පහකරල ඉන්නෙ.

ඉතින් අරිහතුන් වහන්සේලා ගැන, උන්වහන්සේලා හැසිරෙන විදිහ ගැන, කතා බහ කරන දේවල් ගැන, දේවතාවන් ලොව්තුරා බුදුන් වහන්සේගෙන් ප්‍රශ්න අහල තිබුනා. එක්තරා දේවතාවෙක් බුදුන් වහන්සේගෙන් මෙහෙම අහනවා.

සිවු මගින් කළ කිස ඇති ආස්‍රවයන් නැසූ පශ්චිම ශරීරය දරන යම් රහත් මහණෙක් වේද හෙතෙමේ "මම" කියමි කියත් කියන්නේද? හෙතෙම "මට" කියතියි කියත් කියන්නේද? (අරහන්ත සූත්‍රය - දේවතා සංයුක්තය - සංයුක්ත නිකාය 1 - 29 පිටුව)

ඉතින් මේ ප්‍රශ්නය මේ ලිපිය කියවන පින්වතුන්ටත් තියෙන්න පුළුවන්. අරිහත් වෙන්න නම් දස සංයෝජන සහමුලින්ම ඉවර වෙන්න ඕන. ඒ අතර මානයත් සහමුලින්ම ඉවත් වෙනවා. එතකොට අරිහතුන් වහන්සේ "මම" කියල, එහෙම නැත්නම් "මට" කියල කියනවද? මගේ පාත්‍රය... ඒ වගේ වචන පාවිච්චි කරනවද? ලොව්තුරා බුදුන් වහන්සේ ඇතුළු රහතන් වහන්සේලා එහෙම භාවිතා කරපු අවස්ථා පෙළ දහමෙත් ඕන තරම් තියෙනවා. ඉතින් අර දේවතාවටත් තිබුනෙ ඒ ජාතියේ ප්‍රශ්නයක්. මමත්වය සහමුලින් නැති කළ කෙනෙක් "මම" කියල කියන්න පුළුවන්ද?

ඒ ප්‍රශ්නයට ලොව්තුරා බුදුන් වහන්සේ දුන්න උත්තරය තමයි මේ.

**සිවු මගින් කළ කිස ඇති ආස්‍රවයන් නැසූ පශ්චිම ශරීරය දරන යම් රහත් මහණෙක් වේද, හෙතෙමේ "මම" කියමි කියාත් කියන්නේය. හෙතෙම "මට" කියතියි කියාත් කියන්නේය. දක්ෂ වූ හෙතෙම ලෝකයේ ව්‍යවහාරය දැන ව්‍යවහාර මාත්‍රයෙන් ව්‍යවහාර කරන්නේය.** (අරහන්ත සූත්‍රය)

ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ පෙන්වා දුන්නෙ, උන්වහන්සේලා එහෙම කියනව කියල. ඒ කියන්නෙ මේ ලෝකයේ ක්‍රමයක් තියෙනවා, මිනිස්සු කතා බහ කරන විදිහක් තියෙනවා. ඒකට තමයි ව්‍යවහාරය කියන්නෙත්, හඳුන්වාදීම කියන්නෙත්. ඒ අනුවයි උන්වහන්සේලා එහෙම කතා කරන්නෙ. මෙතනදි පැහැදිලි වෙන කාරණය නම්, ලෝකයේ යම් කිසි සම්මත ක්‍රමයක්, විදිහක් තියෙනව නම්, සියල්ල අත් හැරපු අරිහතුන් වහන්සේ ඒ දේවල්වලින් පිට පනින්නෙ නෑ. උන්වහන්සේට සමාජය එක්ක ගනුදෙනුවක් නොතිබුනාට, සමාජය උන්වහන්සේ එක්ක ගනුදෙනු කරනවා. දානයකට ආරාධනා කරනවා. සිවුරු පිරිකර පූජා කරනවා. මේ දේවල්වලට උන්වහන්සේලා පහර ගහන්න හෝ වළක්වන්න යන්නෙ නෑ. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ "දක්ෂ වූ හෙතෙම" කියල කිව්වෙ. ලෝකයට ඇලෙන්නෙ නැතිව ලෝකය සමග ගනුදෙනු කරන්න උන්වහන්සේලා දක්ෂයි. උන්වහන්සේලා හරියට පිපුන නෙළුම් මල් වගේ. මඩේ පිපුණට මඩ නොගෑවී ලෝකයටම සුවඳ දෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග සංයුක්ත නිකාය 1 - දේවතා සංයුක්තය ඇසුරෙන් සකස් කළේ:*

**රිෆ්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව - 076-3446839**

# ජංගම දුරකතනයේ සැඟවුනු මාරයා...



වස විස මිශ්‍ර ආහාර වගේම සමාජය ගිලගෙන තියෙන තවත් පැතිකඩක් ගැන තමයි මේ හෙළිදරව් කරන්නෙ. මේ වෙනකොටත් හුඟ දෙනෙක් දැනගෙන නැති, විස්වාස කළේ නැති ඒ අඳුරු පැතිකඩ තමයි ජංගම දුරකතනයේ වැරදි භාවිතය. පිටින් බැලුවම සුන්දර ලෝකයක් මවා පැවත් අභ්‍යන්තරයේ සැඟවිලා ඉන්න මාරයා ගැන හුඟ දෙනෙක් දන්නෙ නෑ. එහෙම දැනුවත් කිරීම් අහන්න ලැබෙන්නෙත් නෑ. මොකද සියල්ල වාණිජකරණය වෙලා එකම රැල්ලක් බවට පත් වෙලා තියෙන්නෙ. ඒ රැල්ලේ විවිධ පැතිකඩවල් අපිට පාරෙ තොටේදි ඕන තරම් දැකගන්න පුළුවන්.

ජංගම දුරකතනය කනේ තියාගෙන ආහාර අනුභව කරන අය, වාහන පදවන අය, පාරෙ ගමන් කරන අය ඔබ ඕන තරම් දැකල ඇති. තවත් සමහරු පාර හරහා මාරු වෙන්නෙත් දුරකතනය කනේ තියාගෙන. ඒ වගේම ජංගම දුරකතනය මාරුවෙන් මාරුවට කනට සහ මුවට තියාගෙන බස් රථයට ගොඩ වෙච්ච වෙලේ පටන් බහින කල්ම මොනවා හෝ මුමුණන තරුණ තරුණියන් අද වෙනකොට සුලභ දසුනක්. ඉතිං මොනවද මේ වැඩි හරියක් කතා ? කෑවද බිව්වද, ඊයෙ වැඩට ගියාද, කොහොමද... මේ ආදී වශයෙන් කතා කරන්න දෙයක් නැතිකමට කරන කතා වෙනුවෙන් තමයි අද වෙනකොට හුඟ දෙනෙක් ජංගම දුරකතන භාවිතා කරන්නෙ.

දැන් මේ අවුරුදු විස්සකටත් මෙහා සිද්ධ වෙච්ච මහා විපර්යාසයක් තමයි අපිට දකින්න තියෙන්නෙ. ඊට ඉස්සර මනුස්සයො උදේ වැඩට ගියාම හැන්දෑවට ගෙදර එනකල් දන්නෙ නෑ. තම තමන්ගෙ වැඩ කටයුතු කරගෙන ඉන්නව මිසක් තත්පරයක් ගානෙ ඉන්නවද නැත්ද කෑවද බිව්වද කියල හොයල බලන්න ගියේ නෑ. ළමයි පාසල් ගියත් එහෙමයි. ගෙදර ඇවිත් කන බොන කල් දන්නෙ නෑ. ඉතිං එහෙම දැනගත්තෙ නැහැයි කියල කිසි ප්‍රශ්නයක් වුනෙත් නෑ. ඊටත් ඉස්සර ගත්තොත්, සැතපුම් ගණන් දුර බැහැර ගිහින් සති ගණන් යනකලුත් දැනගන්න ක්‍රමයක් නෑ. හැබැයි කිසි ප්‍රශ්නයක් නැතිව වැඩ ටික කරගෙන ගෙදර ආවා.

එතකොට අද මොකක්ද මේ වෙලා තියෙන්නෙ ? පංචකාමයෙන් මත් වුනාම ඇලීම, ගැටීම බොහොම වැඩියි. කාටහරි බනින්න පාවිච්චි කරන්නෙත් දුරකතනය. අවශ්‍යතාවයෙන් ඔබ්බට ගිහින් අනවශ්‍ය දේත් කතා කරනවා. දැන් ඒකට ඇබ්බැහි වෙලා ජංගම දුරකතනයක් නැතුව බෑ. නිතර දෙවේලෙ දැක්කත් දුරකතනයෙන් කතා කළේ නැත්නම් හිතට මොකක්ද වගෙයි. හැබැයි මේ සියල්ලම ජංගම දුරකතනය අස්සෙ සැඟවිච්ච මාරයා නොදැකීමේ ප්‍රතිඵලය මිසක්, ඇත්තටම දැනගත්ත නම් අත්‍යවශ්‍ය කාරණයකට කතා කරල නිකං ඉන්නව මිසක් මේ වගේ සෙල්ලම් කරන්න යන්නෙ නෑ.

කොහොමද එතකොට මේ ජංගම දුරකතනයක් මාරාන්තික වෙන්නෙ ? මනුස්ස ශරීරයක් ගත්තම මූලිකවම ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා ධාතුවලින් හැදිල තියෙන්නෙ. ඒව තවත් ටිකක් ඝනීභවනය වුනාම පදාර්ථ කියල කියනවා. හැබැයි පදාර්ථ කියන්නෙ අවසාන වශයෙන් විද්‍යුත් චුම්භක තරංග. වෙනත් විදිහකින් කියනව නම් ෆෝටෝන අංශු. ඒ විද්‍යුත් චුම්භක තරංග හෙවත් ෆෝටෝන අංශු කම්පනයක් තමයි හැම වෙලේම ශරීරයක තියෙන්නෙ. එතකොට ජංගම දුරකතනයක් ගත්තම අපිට ශබ්දය විදිහට එන්නෙත් විද්‍යුත් චුම්භක තරංග. අපි ජංගම දුරකතනයක් කනේ තියාගෙන කතා කරනවයි කියන්නෙ, අපේ ශරීරයේ තියෙන විද්‍යුත් චුම්භක තරංග සමග දුරකතනයෙන් එන විද්‍යුත් චුම්භක තරංග ගැටීමක්. හැබැයි **ඒ පිටින් එන විද්‍යුත් චුම්භක තරංග අපේ ශරීරයේ තියෙන විද්‍යුත් චුම්භක තරංගවලට ගැලපුනේ නැත්නම්, ශරීරයට අහිතකර ඒව නම්, ඒ ගට්ටනය නිසා සිද්ධ වෙන්නෙ ශරීරයේ තියෙන විද්‍යුත් චුම්භක තරංග ආකෘතිය ස්වභාවිකත්වයෙන් විකෘති වීම.** ඒ නිසා මනුස්සයා කියන්නෙත් හරියට විද්‍යුත් චුම්භක තරංග උපකරණයක් වගේ. ඒ හේතුවෙන් මනුස්සයගෙ ශරීර සැකැස්ම පහසුවෙන් විකෘති වෙන්න පුළුවන්. ඒ කාරණය උපදින්න ඉන්න දරුවන්ට පවා කර්මානුරූපව බලපාන්න පුළුවන්.

එතකොට ශරීරයට ගැලපෙන හිතකර විද්‍යුත් චුම්භක තරංගත් තියෙනවා. උදාහරණයක් විදිහට කවුරුහරි කෙනෙක් සුවපත් වේවා කියල ආශිර්වාද කළොත් ඒ පිටවන කිරණ සුද්ධයි. ඒ ආශිර්වාද කරන කෙනාගෙ ගුණ මහත්වය අනුව ඒ සුද්ධත්වයත් වෙනස් වෙනවා. සංඛ්‍යාතයයි හැඩ තලයයි තමයි එතනදි වෙනස් වෙන්නෙ. ඒ කියන්නෙ නාමයයි රූපයයි. නාමයේ වේදනා, සංඥා, සංඛාර තියෙනවා. ඒ නාමයට අනුව තමයි රූපය රූප්පනය වෙන්නෙ. ඒ කියන්නෙ අපි ගන්න අදහසට අනුව ඒ විද්‍යුත් චුම්භක තරංග හැඩ ගැහිල ක්‍රියාත්මක වෙනවා. භෞතික විද්‍යාවේ එන ස්ට්‍රිංග් සිද්ධාන්තය තමයි එතනදි යෙදෙන්නෙ. ඒ විද්‍යුත් චුම්භක තරංගවලට අදාල සංඛ්‍යාත පරාසය මත තමයි ඒවායේ හැඩය තීරණය වෙන්නෙ. ඒ හැඩය තුළම තමයි නාමය තියෙන්නෙත්. අධ්‍යාත්මික ශක්තිය වැඩිච්ච තරමට ඒ කිරණවල හැඩතල සුමට වෙනවා. ඉතිං ☞

හොඳ නරක දෙකටම මුළු විශ්වයේම වැඩ කරන්නෙ විද්‍යුත් චුම්භක තරංග. මේ කාරණය උදාහරණයකින් පහදන්න පුළුවන්.

යකඩ කුඩු ටිකක් කොළයක් උඩට දාල කොළය යට පැත්තෙන් කාන්දමක් අල්ලගෙන ඒ කාන්දම එහා මෙහා ගෙනිච්චොත් ඊට අනුකූලව අර යකඩ කුඩුවල පිහිටි හැඩයත් වෙනස් වෙනවා. එතකොට යකඩ කුඩුවල හැඩය තීරණය කළේ අර එහා පැත්තෙ තිබ්බ කාන්දම. ඒ වගේ දෙයක් තමයි ජංගම දුරකතනයක් භාවිතා කරනකොට සිද්ධ වෙන්නෙත්. අපේ කයේ තියෙන්නෙත් විද්‍යුත් චුම්භක තරංග නම්, ජංගම දුරකතනය හරහා එන්නෙත් විද්‍යුත් චුම්භක තරංග නම්, ඒ පිටින් එන තරංග හෙවත් කිරණ මනුස්ස ශරීරයට හිතකර ඒවා නොවුනොත්, ශරීරයේ යම් කිසි හැඩයකට අනුගත වෙලා තියෙන විද්‍යුත් චුම්භක තරංග අර කිරණවල අහිතකර බලපෑම නිසා අක්‍රමවත් වෙන්න ගන්නවා. ඒ කියන්නෙ ස්වභාවිකව තියෙන හැඩය වෙනස් වෙලා වෙනත් හැඩයක් ගන්නවා. එතකොට ශරීරයේ ක්‍රියාකාරීත්වය අවුල් වෙන්න පටන් ගන්නවා.

හැබැයි එතනදි ඒ ජංගම දුරකතනය ඔස්සේ ජනනය වන විද්‍යුත් චුම්භක තරංගවල අහිතකර බව අඩුද වැඩිද කියන කාරණයට ඒ දුරකතනයේ ගුණාත්මකබාවයත් බලපානවා. සාමාන්‍යයෙන් ගුණාත්මකබාවයෙන් ඉතා ඉහළ ජංගම දුරකතනයකින් එන ඒ අහිතකර කිරණ හුඟක් දුරට කැපෙන නිසා ඒ බලපෑම සාපේක්ෂව අඩුයි. හැබැයි සාපේක්ෂව අඩුයි කියන්නෙ හොඳයි කියන එක නෙවෙයි. ඒ වගේම මෙතනදි ගුණාත්මකබවින් වැඩියි කියන්නෙ වෙළඳ නාමයෙන් ලෝක ප්‍රසිද්ධ කියන එක නෙවෙයි. **ඒ දුරකතනයේ උපාංග සකස් කරල තියෙන අමුද්‍රව්‍ය ගුණාත්මකබවින් වැඩි ඒවා නම් ඒක සාපේක්ෂව හොඳයි.** ඉතිං රත්රන්, රිදී, ප්ලැටිනම් වගේ ලෝහ ගත්තම ඒවායින් එන ආපදා ස්වභාවය බොහොම අඩුයි. හරියට ඩීසල්වලින් දුවන වාහනවලට වඩා පෙට්‍රල්වලින් දුවන වාහනවලින් එන විස අඩුයි වගේ. සුපිරි පෙට්‍රල්වලින් එන විස ඊටත් වඩා අඩුයි. මොකද සුද්ධතාවය වැඩියි. කිරණ ගමන් කරනකොටත් බාධක වැඩි නම් ඒකෙන් පිටවෙන අහිතකර ශක්තිය වැඩියි. ඒ වගේ ගුණාත්මකබවින් වැඩි මූල ද්‍රව්‍යවලින් යම් උපකරණයක් හැදුවම එන බාධක අඩුයි, අහිතකර ස්වභාවය අඩුයි.

ලෞකික අතින් හුඟක් දියුණු සමහර රටවල් ගත්තොත් එක්තරා ප්‍රමිතියකට හදපු ජංගම දුරකතන හැර බාල වර්ගයේ දුරකතන පාවිච්චිය ඒ රටවල තහනම්. නමුත් සමහර රටවල ප්‍රමිතියකින් තොරව නිෂ්පාදනය කරපු ජංගම දුරකතනත් පාවිච්චි කරන්න ඉඩ දීල තියෙනවා. ඒවායේ ශරීරයට හිතකර පරාස මුකුත් නෑ. හරියට අර වස විස තියෙන ආහාර වගේ තමයි. කිසිම දෙයක් ප්‍රමිතියකට ලක් කරල නෑ. මිනිස් ශරීරයට හානිකර කිරණ අවම කරල නෑ. ඉතිං ඒ වගේ ප්‍රමිතියක් නැති බාල ජංගම දුරකතනත් අද වෙළඳපොළේ විවිධ මිල ගණන්වලට අලෙවි කරනවා. දියුණු රටවල නම් ඒවා විකිරණ පරීක්ෂාවට ලක් කරල මනුස්සයාට හිතකර නම් විතරයි අලෙවි කරන්න ඉඩ දෙන්නෙ. ඒවාට අවශ්‍ය නීති රීති ඒ රටවල්වල පනවල තියෙනවා.

හැබැයි ගුණාත්මකබාවයෙන් ඉහළ ජංගම දුරකතන මොනවද කියල එළිදරව් කරන්න මේ ලිපියෙන් පුළුවන්කමක් නෑ. මොකද ඒක වෙළඳ නාමත් එක්ක සම්බන්ධ නිසා. ඒ නිසා ගුණාත්මකබවින් ඉහළ ඒවා මොනවද කියල පාරිභෝගිකයො විදිහට ඔබ විසින් තෝරාගත යුතුයි. විශේෂයෙන් බටහිර දියුණු රටවල් ගත්තම ඒ අය මේ වගේ දුරකතන නිෂ්පාදනය කරනකොට සෑහෙන පරීක්ෂණ කරල මනුස්සයාට හානිකර බව අවම වෙන්න තමයි ඒ රටට අවශ්‍ය විදිහට නිෂ්පාදනය කරන්නෙ. අනුන්ට හානිකර ඒවා කොහොම වුනත්, තමන්ගෙ රටට හානිකර නොවෙන්න කීයක් ගියත් උපරිම ආරක්ෂාකාරීව නිපදවනවා. මොකද ඒ අය මිනිස් ජීවිතයකට මහ වටිනකමක් දීල තියෙනවා. ඒ නිසා නවීන තාක්ෂණයෙදි හැම දෙයකම ගුණාත්මකබවින් වැඩිම අමුද්‍රව්‍ය සහ ක්‍රමවේද තමයි ඒ අය පාවිච්චි කරන්නෙ.

දැන් එතකොට මේ විදිහට ජංගම දුරකතනයකින් ශරීරයට එන බලපෑම පිටින් බැලූ බැල්මට නොපෙනුනාට ප්‍රායෝගිකව අත්දකින්න ලැබිච්ච අවස්ථා තියෙනවා. කෙනෙක්ගෙ ශරීරය වටා තියෙන රැස් වළල්ල හෙවත් ඕරා වළල්ල ගැන දැනගන්න පුළුවන් කැමරා දැන් රටේ ලෝකෙ තියෙන බවත්, ඒවායේ විද්‍යාත්මක ක්‍රමවේදයත් මේ සඟරාවෙ මීට පෙර ලිපිවලින් පැහැදිලි කළා. අන්න ඒ වගේ ස්ථානයකට ගිහින් ඕරා යන්ත්‍රයට අත තිව්වම මුළු ශරීරයේම ඕරා වළල්ල පරිගණක තිරයේ සටහන් වෙනවා. ඒ වගේ පරීක්ෂා කරන අවස්ථාවක එක්තරා පුද්ගලයෙක්ගෙ ජංගම දුරකතනයට ඇමතුමක් ආවා. ඒ ජංගම දුරකතනයත් ලෝකයේ තියෙන ගුණාත්මකබවින් ඉහළ වර්ගයේ එකක්. දැන් ඉතින් ඔහු ඕරා යන්ත්‍රයෙන් අත ඉවතට අරගෙන දුරකතන ඇමතුමට පිළිතුරු දීල නැවතත් අත ඕරා යන්ත්‍රයට තියල පරීක්ෂා කළා. අර පරිගණකයේ මෙච්චර වෙලාවක් පෙන්නුම් කරපු ඕරා වළල්ල එක්තරා තැනකින් පළුදු වෙලා කළු පාට වෙලා තිබුනා. ඒ කියන්නෙ දුරකතනය කනේ තියාගත්ත පැත්තට අදාළ ඕරා වළල්ල යම් කිසි ස්ථානයකින් පළුදු වෙලා කළු පාට වෙලා තිබුනා. එතකොට ගුණාත්මකබවින් ඉහළ දුරකතනයක බලපෑමත් ඒ විදිහට නම්, බාල වර්ගයේ දුරකතනයක බලපෑම කොහොමට ඇත්ද? ඉතිං මේ පරීක්ෂණය සියුම් ඕරා කැමරාවකින් ඕන කෙනෙකුට කරල බලන්න පුළුවන්. අර දුරකතනය හරහා එන විද්‍යුත් චුම්බක තරංග හෙවත් විස කළු කිරණ අපේ ශරීරයේ තියෙන සුද්ධ කිරණ ශක්තිය විනාස කරනවා.

මේ තරම් බලපෑමක් එල්ල නොකළත්, මේ හා සමාන දෙයක් තමයි අනාරක්ෂිත පරිගණකයක් ඉදිරියේ එක දිගට වැඩ කරනකොටත් සිද්ධ වෙන්නෙ. ඒ වගේ අවස්ථාවක පරිගණක තිරයෙන් පිට කරන විකිරණ හෙවත් විද්‍යුත් චුම්භක තරංග කෙලින්ම ශරීරයට වදිනවා. පරිගණකයක් ඉදිරියේ අනාරක්ෂිතව එක දිගටම පැය ගණනාවක් වැඩ කරන කෙනෙක්ගෙ මාස 6 ක් විතර ගියාට පස්සෙ මුහුණ දිහා බැලුවොත් කළු පාට වෙලා අව පැහැ ගැන්විලා තියෙනව දැක බලාගන්න පුළුවන්. ඒකත් ඕන නම් අර විදිහට ඕරා කැමරාවකින් පරීක්ෂා කරල බලන්න පුළුවන්. ඒ සම්බන්ධයෙනුත් ප්‍රායෝගිකව අත්දකින්න ලැබිච්ච අවස්ථා තියෙනවා. එක්තරා පුද්ගලයෙක් දවසින් පැය 15 කටත් වැඩි ප්‍රමාණයක් එක දිගටම ගත කළේ පරිගණකයත් එක්ක. ඒ විදිහට මාසයක් විතර ගිහින්

ඕරා කැමරාවෙන් පරීක්ෂා කරල බලන කොට ශරීරය මැදින් ඕරා වළල්ල පැලුමක් වගේ දිගට පිච්චිලා තිබුනා.

මොකද මනුස්ස ශරීරයක තියෙන්නෙ සුද්ධ කිරණ. ජංගම දුරකතන, පරිගණක හරහා එන්නෙ අසුද්ධ කිරණ. එතකොට මනුස්ස කයට උචිත ඒව තමයි පිං කිරණ කියල කියන්නෙ. මනුස්සයෙක් කියන්නෙ පුණ්‍ය ඵලයක්. පිනට ඉපදිච්ච කුසල විපාකයක්. ඒ කුසල විපාකය හරහා බොහෝ කොටම විපාක විදිහට එන්නෙත් පිං කිරණ. කරපු අකුසල කර්ම අනුව විටින් විට අකුසල විපාකත් එනවා. නමුත් හොඳට ඉන්න මනුස්සයෙක් ගත්තම සාමාන්‍යයෙන් වැඩිපුරම එන්නෙ පිං කිරණ. එතකොට දුරකතනවලින්, පරිගණකවලින් හැම තිස්සෙම පිටවෙන්නෙ කළු කිරණ හෙවත් අසුද්ධ කිරණ. රූපවාහිනියෙත් ඔය සිද්ධියම තමයි වෙන්නෙ. නමුත් හුගක් ඈතින් ඉඳන් බලන නිසා ඒක එච්චර ගැටළුවක් නෙවෙයි. ඊළඟට පරිගණකයක් ගත්තම තවත් ටිකක් ළං වෙන නිසා බලපෑම සාපේක්ෂව වැඩියි. හැබැයි ඒ බලපෑම අවම කරගන්නත් ක්‍රම තියෙනවා. **පරිගණක තිරය ඉදිරියෙන් විනිවිඳ පේන ආරක්ෂිත ආවරණයක් යෙදීමත්, පරිගණකයක් පාවිච්චි කරනකොට ආරක්ෂිත උපැස් යුවළක් පාවිච්චි කිරීමත්, සෑහෙන වෙලාවක් එක දිගට වැඩ නොකර පැය කිහිපයකින් පසු ඉවත් වෙලා නැවත වැඩ පටන් ගැනීමත් මගින් ඒ හානිය අවම කරගන්න පුළුවන්.**

ඊළඟට මේ සියල්ලෙන් වඩාත්ම භයානකම දේ තමයි ජංගම දුරකතනය. මොකද ඒක අරගෙන කෙලින්ම තියාගන්නෙ කනේ. ඒ කියන්නෙ ශරීරයේ වැදගත්ම කොටසක් වන මොළයට ආසන්නයෙන්. දැන් මේ පිළිබඳව බටහිර රටවල පර්යේෂකයො විවිධ පර්යේෂණ කරල ඊට අදාළ ඡායාරූපත් සමග විස්තර අන්තර්ජාලයේ ප්‍රසිද්ධ කරල තියෙනවා. පහත දක්වා තියෙන අන්තර්ජාල යොමුවලින් අවශ්‍ය කෙනෙකුට ඒ දත්ත සහ විස්තර ලබා ගන්න පුළුවන්.

- http://www.lovethispic.com/blog/11900/10-radiation-emitting-cell-phone-brands-you-need-to-throw-out-immediately
- http://www.naturalnews.com/054165_cell_phone_radiation_brain_tumors_government_study.html
- https://thetruthaboutcancer.com/cell-phone-radiation-cancer/
- http://www.medindia.net/patients/patientinfo/cell-phone-radiation-and-cancer-unveiling-the-link.htm
- http://articles.mercola.com/sites/articles/archive/2012/06/16/emf-safety-tips.aspx

ඒ අනුව මිනිත්තු 15 ක් එක දිගට ජංගම දුරකතනය කනේ තියාගෙන කතා කළ කෙනෙක්ගෙ කන වටා මොළය ආශ්‍රිත ප්‍රදේශය රතු පැහැයෙන් දිස්වෙනවා. මොකද ඒ අහිතකර කිරණ නිසා ඒ අවට ප්‍රදේශය අස්වාභාවිකව රත් වෙනවා. ඒ රත්වීම තමයි රතු පාටින් පෙන්නුම් කරන්නෙ. උදාහරණයක් විදිහට යකඩයක් ගිනියම් වෙනකල් රත් කරල සාමාන්‍ය ජලයේ ගිල්වල ලබා ගන්න පන්නරයයි, අයිස් වතුරේ ගිල්වල ලබා ගන්න



පන්නරයයි, තෙල්වල ගිල්වල ලබා ගන්න පන්නරයයි එකිනෙකට වෙනස්. ඒ වගේ තමයි ශරීරයේ කොටස් තාපය නිසා රත් වෙනකොටත් ඒ රත්වීමේ ස්වභාවය රත් වෙන ක්‍රමවේදය අනුව වෙනස් වෙනවා.

බටහිර ස්නායු වෛද්‍ය ආයතනයක වෛද්‍යවරයෙක් සඳහන් කරල තිබුනෙ, මයික්‍රොවේව් හෙවත් **ක්ෂුද්‍ර තරංග උදුනක මස් තම්බනව වගේ, ජංගම දුරකතනයත් මනුස්සයගෙ මොළය ඒ විදිහටම තම්බන බව. ජංගම දුරකතනයෙන් පිටවන ක්ෂුද්‍ර තරංග සහ තාපය හේතු කොටගෙන මොළයට, මුහුණට සහ ඒ වටා අවයවවලට හානි කරන්න පුළුවන් බව** ඒ පිළිබඳව පර්යේෂණ කරපු විද්‍යාඥයන් සොයාගෙන තියෙනවා.

ඒ වගේම මොළයේ පිළිකාවක් වන ග්ලයෝමා කියන තත්ත්වයත්, පිළිකා නොවන වර්ධනයක් විදිහට සැළකෙන ඇකොස්ටික් නියුරෝමා තත්ත්වයත්, බේට ග්‍රන්ථි ආශ්‍රිත පිළිකා තත්ත්වයත් කියන මේවා සහ ජංගම දුරකතන භාවිතය අතර සම්බන්ධතාවයක් තියෙන බවත් පර්යේෂණ කිහිපයකින්ම හෙළි වෙලා තියෙනවා. දවසකට පැය බාගයකට වඩා වැඩියෙන් අවුරුදු 10 ක් එක දිගට ජංගම දුරකතන භාවිතා කරන අය අතර ග්ලයෝමා කියන පිළිකා තත්ත්වය ඇතිවීමේ සම්භාවිතාව දෙගුණයකින් විතර වැඩි බවත් තවත් පර්යේෂණයකින් සොයාගෙන තියෙනවා.

ඒ වගේම දවසකට පැය භාගයක් එක දිගටම ජංගම දුරකතනයක් කනේ තියාගෙන කතා කරන කෙනෙක්ගෙ මොළයේ ගෙඩි ඇති වීමේ අවදානම වැඩි බවත් ඒ වාර්තාවලින් කියවෙනවා. ඊට අමතරව පිටියුටරි ග්‍රන්ථියේ පිළිකා, තයිරොයිඩ් පිළිකා, මෙලනෝමා අවදානම, පැරා තයිරොයිඩ් පිළිකා, ලියුකේමියාව, ඇස්වල පිළිකා... ආදී තත්ත්වයන් ඇතිවෙන්න පුළුවන් අවදානමක් තියෙන බවත් සොයාගෙන තියෙනවා. ඒ වගේම **නිතරම ජංගම දුරකතනය ඉනේ පැළඳගෙන ඉන්න කෙනෙක්ගෙ ඕරා වළල්ල සියුම් විදිහට පරීක්ෂා කරල බැලුවොත්, ඒ ඉන ප්‍රදේශයේ ඕරා වළල්ල කළු පාට පැල්ලමක් වගේ දැකගන්න පුළුවන්.** මොකද දුරකතන ඇමතුම් ඇවිත් සට්ටනය වෙනකොට ඒ අවට කලාපයම බල ගැන්වෙන නිසා ඒ ස්ථානයට අදාළ ශරීරයේ ඕරා කිරණත් පිච්චිලා යනවා.

ඒ වගේම ළමා වියේ පසුවන අය අතර ජංගම දුරකතනවලින් ඇතිවන අහිතකර බලපෑම සාමාන්‍ය අයට වඩා බොහෝ වැඩි බවත් සොයාගෙන තියෙනවා. ඔවුන්ගේ හිස් කබල ශක්තිමත් නොවීමත්, මොළය සීඝ්‍රයෙන් වර්ධනය වීමත් ඒකට හේතු වෙනවා.

හැබැයි ඉතිං ඒ පර්යේෂකයින්ට හොයාගන්න බැරි වුනත්, ඒ අය පිළි නොගත්තත්, **බුදු දහමට අනුව මේ හැම එකකටම කර්මය මුල් වෙන බව තේරුම් ගන්න ඕන.** මොකද නැත්නම් කෙනෙකුට තර්ක කරන්න පුළුවන්, එහෙනම් ඔය කියන විදිහට ජංගම දුරකතන පාවිච්චි කරන අය ඔක්කොටම ඒ වගේ රෝගී තත්ත්වයන් මේ වෙනකොට ඇතිවෙලා තියෙන්න ඕන නේද කියල. කර්ම ඵල විග්‍රහය අනුව එතනදි සිද්ධ වෙන්නෙ, අනන්තරය

හෙවත් පෙර රෝගයක් ඇතිවෙන්න හේතුවක් ගොඩනැගිල තිබුන නම්, එහෙම නැත්නම් ඒ සඳහා කර්මයක් කරල තිබුන නම්, මේ වගේ ජංගම දුරකතන වැරදි විදිහට පාවිච්චි කිරීම නිසා ඇතිවන ප්‍රයෝග විපත්තිය සමනන්තරය විදිහට ක්‍රියාත්මක වෙලා, සූවිසි පට්ඨානයේ එන අනන්තර සමනන්තර ප්‍රත්‍ය අනුව ඒ වගේ රෝගී තත්ත්වයන් වර්තමානයේ ඇති වීම. එතකොට දැන් සමනන්තරය තිබුණත් ඒකට ගැළපෙන පෙර අනන්තරයක් නැත්නම්, ඒ වගේ අයට ඒ රෝග තත්ත්වයන් මතු නොවෙන්න පුළුවන්. හැබැයි ඒ වගේ රෝග තත්ත්වයක් ඇති නොවුනත් ආයුස අඩුවීම, ශරීරය දුර්වල වීම වගේ වෙනත් අතුරු ආබාධ එන්න ඒක හේතුවක් වෙනවා. ඒ නිසා මේ ජංගම දුරකතන වැරදි විදිහට භාවිතා කරනව කියන්නෙ ප්‍රයෝග විපත්තියක්, ඒ විපත්තියට සමනන්තරය හෙවත් පරිසරය ගොඩනැගීමක්.

දැන් මේ ජංගම දුරකතනයෙන් මනුස්සයගෙ ශරීරයට මෙච්චර දැඩි බලපෑමක් එල්ල වෙනවයි කියන කාරණය ඔප්පු කරන්න පුළුවන් තවත් ප්‍රායෝගිකව අත්හදා බලන්න පුළුවන් සියුම් පරීක්‍ෂණයක් තියෙනවා. දුරකතන ඇමතුමක් නොගෙන නිකං ක්‍රියාත්මක කරල තියෙන ජංගම දුරකතනයක් එක අතක තියාගෙන, එහෙම නැත්නම් සාක්කුවක දාගෙන අත් දෙකම දෙපැත්තට විහිදවල තනි කකුලෙන් හිටගෙන සමබරව ඉන්න උත්සාහ කරල බලන්න. ඊළඟට ඒ ජංගම දුරකතනය නැතිව අත් දෙක විහිදවල තනි කකුලෙන් ඒ විදිහටම ඉන්න උත්සාහ කරන්න. බොහොම සියුම්ව පරීක්‍ෂා කරල බැලුවොත්, පළවෙනි අවස්ථාවට වඩා දෙවෙනි අවස්ථාවෙදි සමබරව ඉන්න පහසුයි. බාල වර්ගයේ දුරකතනයක් නම් ඒ කාරණය වඩා හොඳින් නිරීක්‍ෂණය කරන්න පුළුවන්. අවශ්‍ය නම් මේ කාරණය ඕරා කැමරාවක් ඉදිරියේ පරීක්‍ෂා කරල බලන්නත් පුළුවන්. ඒ වගේම ක්‍රියාත්මක කරපු ජංගම දුරකතනයක් අතේ තියාගෙන ඕරා කැමරාවට අනිත් අත තියල ඕරා වළල්ල පරීක්‍ෂා කරල බලන්න. ඊළඟට දුරකතනය නැතිව පරීක්‍ෂා කරල බලන්න. සියුම්ව නිරීක්ෂණය කළොත්, ජංගම දුරකතනය අතේ තියාගෙන ඉන්න අවස්ථාවෙදි ශරීරයේ ඕරා වළල්ලේ අඩුවීමක් පෙන්නුම් කරන බව දැක බලාගන්න පුළුවන්. ශරීරයේ සමබරතාවය අඩු වෙන්නෙත් ඒ ඕරා වළල්ල දුර්වල වීම නිසා. එතකොට දුරකතන ඇමතුමක් නොගෙන, දුරකතනය නිකං ක්‍රියාත්මක වෙලා තියෙනකොටත් එහෙම බලපෑමක් එනව නම්, දුරකතන ඇමතුමකට සම්බන්ධ වුනාම කොච්චර බලපෑමක් එන්න පුළුවන්ද ?

ඒ වගේම **ජංගම දුරකතනයක්, උඩ කමිස සාක්කුවේ නිතර දාගෙන ඉන්නව නම් ඒකෙ බලපෑම කෙලින්ම එන්නෙ හදවතට.** සමහරු දුරකතනය උඩ කමිස සාක්කුවේ දාගෙන කන් යොමු පාවිච්චි කරල කතා කරනවා. නමුත් ඒකෙන් කිසි ප්‍රයෝජනයක් නෑ. ඊට වඩා හොඳයි කනේ තියාගෙන කතා කරන එක. මොකද දුරකතනය උඩ සාක්කුවේ දැම්මම හදවතට එන බලපෑම වැඩියි. ඒ තත්ත්වය ශරීර සෞඛ්‍යයට ඉතාම අහිතකරයි. මොකද හදවත තමයි මුළු ශරීරයටම අවශ්‍ය කරන විද්‍යුත් චුම්භක තරංග උත්පාදනය කරන යන්ත්‍රය. ශරීර යාන්ත්‍රණය ක්‍රියාත්මක කරන්නෙ ඒ ශක්තියෙන්. අද වෙනකොට විද්‍යාඥයොත් පර්යේෂණ කරල ඒ කාරණය පිළිඅරගෙන තියෙනවා. නමුත් හදවතට ඒ ශක්තිය එන්නෙ කොහොමද කියල කවුරුවත් දන්නෙ නෑ. ඒ තමයි කර්ම ශක්තියේ බලය. විද්‍යාඥයො දන්නෙ මොකකින් හරි විදුලිය උත්පාදනය වෙනව කියල විතරයි. කොහොමද උත්පාදනය වෙන්නෙ, කොහෙන්ද එන්නෙ, කවුද දෙන්නෙ... මේ ආදී වශයෙන් ඒ ශක්තිය එන ප්‍රභවය දන්නෙ නෑ. විද්‍යුත් ශක්තිය එනව කියල විතරක් දන්නවා.

දැන් ඉතින් හදවත කියන ඒ විදුලිය උත්පාදනය කරන තැනට, අර ජංගම දුරකතනයකින් එන විද්‍යුත් චුම්භක තරංග ආවොත් මොකද වෙන්නෙ? එක දිගටම ඒ කිරණ හදවතට වැදිල ඒ ස්ථානයෙදි විදුලි උත්පාදනයත් අවුල් කරනවා. උදාහරණයක් විදිහට ගත්තොත්, කෙනෙක් දැඩි මානසික පීඩනයකින් ඉන්නකොට ඒ කාරණය හදවතට දැඩිව බලපානවා. මොකද **හාද වෙන වත තමයි හදවත කියන්නෙ. මොනවහරි දේකට හාද වුන ගමන් මිනිස්සු හදවත පැළිල මැරෙන්නෙත් මේ නිසා.** එතකොට හදවත පැළිල මැරෙනවයි කියනව මිසක් මොළේ පැළිල මැරෙනවයි කියල කතාවටවත් කියන්නෙ නෑ. ඇත්තටම මේ විදිහට හදවත පැළිල මිනිස්සු මැරිච්ච අවස්ථා තියෙනවා. එක්තරා මවක් තමන්ගෙ ළමයට ඉතා තදින්ම ඇළුම් කළා. ළමය ගැන නිතර සෙවිල්ලෙන් හිටියෙ. ඉතිං ළමය මවගෙ අකමැත්ත උඩ ඇති කරගත්ත ප්‍රේම සම්බන්ධයක් නිසා ඒ මව ළමයත් එක්ක සැහෙන කාලයක් දරුණු හිත් වේදනාවකින් හිටියෙ. ළමයට තිබිච්ච දැඩි බැඳීම නිසා තමන්ගෙ කරගන්න, තමන්ට ඕන විදිහට පාලනය කරගන්න ඕනකම තිබුණත් ඒක සිද්ධ වුනේ නැති නිසා අවසානයේ දැඩි වියෝවකට පත්වුනා. අන්තිමට ඒ ප්‍රශ්නය විසඳ ගන්න විවිධ මනෝ චිකිත්සක සායනවලටත් ගියා. ඒත් විසඳ ගන්න බැරිව අවසානයේ මළා. මෘත ශරීරය කපල බලනකොට හදවත කෙලින්ම දෙකට පැළිල. ඒ කියන්නෙ හාද වෙන වතට අර එන චිත්ත කිරණ සියල්ල දරාගන්න බැරි වුනාම හදවත පැළෙනවා.

ඉතිං දුරකතන ඇමතුමක් ලබා නොගත්තත්, දුරකතනය නාද වෙනකොටම ඒ තරංග ඇවිත් ඉවරයි. ශක්තිය උත්පාදනය වෙලා ඉවරයි. ඒ නිසා බලපෑම තියෙනවා. ඇමතුම අරගෙන කතා කරනකොට ඒ බලපෑම තවත් වැඩි වීම තමයි වෙන්නෙ. ඒ නිසා ජංගම දුරකතනයකින් කතා කරනකොට විතරක් නෙවෙයි, ඇමතුම් එනකොට දුරකතනය රඳව ගන්න ස්ථානය ගැනත් සැලකිලිමත් වෙන්න ඕන. යන එන ගමන් නෙවෙයි නම්, ශරීරයට ස්පර්ශ වෙන්න නොදී දුරකතනය පැත්තකින් තියන එක තමයි වඩාත් සුදුසු වෙන්නෙ.

ඒ වගේම මේ ජංගම දුරකතනවලින් එන විද්‍යුත් චුම්භක තරංග 3G, 4G, Wifi... ආදී වශයෙන් කියන ඒ කිරණ තියෙන කලාපයක ඉන්න ඉහළ ධ්‍යාන ලාභියෙකුට ඒවායේ බලපෑම ඉතා හොඳින් දැනෙනවා. මොකද මේ විද්‍යුත් චුම්භක තරංග සියල්ලම ආකාස ධාතු තලයේ තමයි තියෙන්නෙ. ඒකෙන් තමයි ඒවා කම්පනය කරන්නෙ. ඒ තලයට වහාම ආසන්නම තලය තමයි චතුර්ථ ධ්‍යාන තලය. ඒ නිසා දැහැන් වැඩෙන අයට මේ කියන තරංග යම්කිසි අපහසුවක් වගේ දැනෙන්නෙ. මොකද මේ වගේ උපකරණ වැඩ කරනකොට ඒ අවට යම්කිසි කලාපයක් තුළ තියෙන ආකාස ධාතුවම කම්පනය වෙනවා. ඉතින් ඉහළ ධ්‍යාන ☞

ලාභීන්ගේ සංවේදීතාවය වැඩි නිසා ඒක හොඳට දැනෙනවා. 3G, 4G, Wifi වගේ අවස්ථාවලදී සංඥා තීව්‍රතාවයත් වැඩියි. ඒ නිසා සංවේදී අයට ඉතා හොඳින් දැනෙනවා.

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කළොත්, අපි ඉන්නෙ මුහුදෙන් හුඟක් ඈත නම් ඒ මුහුදු රැල්ලෙන් එන හඬ අපිට බාධාවක් නෙවෙයි. ඒ හඬ අපිට ඇහෙන්නෙ නෑ. නමුත් අපි මුහුදු වෙරළක් අයිනට ගියාම ඒ ඝෝෂාකාරී හඬ අපිට ඇහෙනවා. ඒ කියන්නෙ ඒකට ආසන්න වුනාම තමයි ඒ බලපෑම දැනෙන්නෙ. ඒ වගේ Wifi කලාපයක, ඒ ජාතියේ උපකරණ භාවිතා කරන ප්‍රදේශයක, නිරන්තරයෙන් ධ්‍යාන වඩන උසස් ධ්‍යාන ලාභියෙකුට ඒක අපහසුවක් වගේ දැනෙන්නෙ. මොකද ඒ වගේ කෙනෙක්ගෙ හිත සුද්ධයි, ප්‍රභාෂ්වරයි. ඒ නිසා තමයි ඒ වගේ උත්තමයෙක් කැලයකට ගියාම හොඳ සනීපයක් දැනෙන්නෙ, දැහැන් ගතවෙන්න පහසු වෙන්නෙ. මොකද ඒ පරිසරය සුද්ධයි. ඒ සුද්ධතාවය සුද්ධ මනසට ඉතා හොඳින් දැනෙනවා.

එතකොට කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ජංගම දුරකතනවල තියෙන මේ ගැටළුව ස්ථාවර දුරකතනවලට නැත්ද කියල. ස්ථාවර දුරකතන කියන්නෙ රැහැන් හරහා සම්බන්ධ වෙන ක්‍රමයක්. ජංගම දුරකතන කියන්නෙ ඈත ප්‍රදේශයේ තියෙන කුළුණකින් කෙලින්ම දුරකතනයට සම්බන්ධ වෙලා ඇමතුම් ලබාගන්න ක්‍රමයක්. එතකොට ඈත තියෙන කුළුණකින් රැහැන් රහිතව තමන් ළඟ තියෙන ජංගම දුරකතනයට ඒ විද්‍යුත් චුම්භක තරංග කෙලින්ම ඇදල ගන්න නම් කොච්චර විසාල ශක්තියක් ක්‍රියාත්මක වෙන්න ඕනද? එතනදි එන විද්‍යුත් චුම්භක කිරණවල තරංග තීව්‍රතාවය ඉතා අධිකයි. ඒ නිසා උත්පාදනය වන තාපයත් ප්‍රභලයි. ඒ නිසා තමයි **ජංගම දුරකතනයක් කනේ තියාගෙන විනාඩි 5 ක් කතා කළත් ඒ පැත්ත රත් වෙලා කැරකිල්ල වගේ එන්නෙ.** ජංගම දුරකතන භාවිතා කරන හැමෝටම වගේ ඒ අත්දැකීම ඇති. දුරකතනය බාල වර්ගයේ එකක් නම් ඒ බලපෑම තවත් වැඩියි.

නමුත් ස්ථාවර දුරකතනවල ඒ වගේ බලපෑමක් නෑ. කාන්දම් බලයත් එක්ක කුඩා විදුලියක් තමයි ඒ රැහැන් හරහා එන්නෙ. එහෙම ඇවිත් අවසානයේ දුරකතනයේ තියෙන ශබ්ද විකාශන යන්ත්‍රයෙන් (ස්පීකරයෙන්)



තමයි බාහිරට ශබ්දය නිකුත් වෙන්නෙ. එහෙම නැතුව කෙලින්ම දුරකතනයට හෝ කනට එනව නෙවෙයි. නමුත් ජංගම දුරකතනයෙදි ඒ දුරකතනයත් එක්ක කෙලින්ම කුළුණ සම්බන්ධ වෙනවා. අන්න ඒ සම්බන්ධ වෙනකොට තමයි විද්‍යුත් චුම්භක තරංග ඇදල ගන්නෙ. ස්ථාවර දුරකතනයෙදි තියෙන්නෙ නිකං උපකරණයක් (Device) විතරයි. එතනදි උත්පාදනයක් හෝ තරංග ඇද ගැනීමක් හෝ වෙන්නෙ නෑ. ඒකට විදුලිය එන්නෙ කම්බියක් හරහා. නමුත් ජංගම දුරකතනයකට රැහැන් සම්බන්ධයක් නැති නිසා ඒ එන විද්‍යුත් චුම්භක තරංග ශක්තිය දුරකතනයට ඇදල අරගෙන සම්බන්ධ කරන්න නම් ලොකු ශක්ති පරිවර්තනයක් සිද්ධ වෙන්න ඕන. කිලෝමීටර් ගණනාවක් ඈත තියෙන කුළුණකින් ඒ ශක්තිය රැහැන් රහිතව අදිනවයි කියන්නෙ විසාල පරිවර්තනයක්. ඒක කෙලින්ම තමන්ගෙ අතේ, එහෙම නැත්නම් කනේ තියෙන දුරකතනයට තමයි සම්බන්ධ වෙන්නෙ. ඉතිං එහෙම සම්බන්ධ වෙලා කතා කරනකොට කන ළඟ තමයි ඒ පරිවර්තනය සිද්ධ වෙන්නෙ. හරියට නිකං කන ඇතුලෙ සිද්ධ වුනා වගේ දෙයක්.

එතනදිත් තමන් වැඩ කරන්න හුරු වෙච්ච පැත්තට ප්‍රතිවිරුද්ධ පැත්තෙ කන භාවිතා කරල කතා කිරීම වඩාත් අනතුරුදායකයි. මොකද යම් කිසි කෙනෙක් වැඩ කරන්න හුරු වෙච්ච පැත්තට ප්‍රතිවිරුද්ධ පැත්තෙ තියෙන මොළයේ කොටස තමයි වඩාත් ක්‍රියාකාරී වෙන්නෙ. ඒ නිසා දකුණු පැත්තෙන් වැඩ කරන්න හුරු වෙච්ච කෙනෙක් ජංගම දුරකතන පාවිච්චියෙදි වම් කන භාවිතා කිරීම වඩාත් අනතුරුදායකයි. ඒ වගේම වම් පැත්තට හුරු වෙච්ච කෙනෙක් දකුණු කන භාවිතා කිරීම අනතුරුදායක බව වැඩියි. ඒ වගේම ජංගම දුරකතනය වැඩිපුර භාවිතා කරන කන පිහිටන පැත්තෙ මොළයේ පිළිකා ඇතිවීමේ වැඩි සම්භාවිතාවක් තියෙන බවටත් තොරතුරු හෙළිදරව් කරගෙන තියෙනවා.

දැන් එතකොට කන අවට තියෙන මොළය, ඇස් වගේ ශරීරයේ වැදගත්ම කොටස්වලටත් ඒ කාරණය බලපානවා. කනේ තියාගෙන කතා කරනවයි කියන්නෙ මොළයේ තියෙන ස්වභාවික විද්‍යුත් චුම්භක තරංග ආකෘතිය සම්පූර්ණයෙන් ව්‍යාකූල වීමක්, සමබරතාවය නැති වීමක්. ඒක ඊළඟට හදවත ඇතුළු මුළු ශරීරයටම බලපානවා.

එතකොට දැන් තියෙන සමාජ තත්ත්වය අනුව හැම කෙනෙකුටම වගේ දුරකතනයක අවශ්‍යතාවයක් තියෙනවා. ඒ ගැන ගැටළුවක් නෑ. නමුත් ඒක පාවිච්චි කරන ආකාරයයි වරද්දගෙන තියෙන්නෙ. ඒ නිසා, ගෙදර ගියොත් අඹු නසී - මග හිටියොත් තෝ නසී කියනව වගේ ශරීර සෞඛ්‍යයත් බේරගෙන අවශ්‍යතාවය ඉටු කරගන්න ජංගම දුරකතනය භාවිතා කරන්න උත්සාහ කරන්න සිද්ධ වෙලා තියෙනවා. ඒකට විකල්ප තියෙනවා. ඒ ගැන දැනුවත් වෙන්න ඕන. පළවෙනි කාරණය තමයි අත්‍යවශ්‍ය දෙයක් කතා කරන්න විතරක් ජංගම දුරකතන භාවිතා කිරීම. ඊළඟට ජංගම දුරකතනයට කන් යොමුවක් (Hands Free/Ear Phone/Head Set) සම්බන්ධ කරගෙන දුරකතනය ටිකක් ඈතින් තියල අතින් අල්ලන්නෙ නැතිව ඇමතුම ගත්තම අර අහිතකර බලපෑම 95% කටත් වඩා කැපිල යනවා. මොකද එතකොට ඒ ශක්ති උත්පාදනය ශරීරයෙන් පරිබාහිරවයි සිද්ධ වෙන්නෙ. ඉතිං ඒක කනේ තියාගත්තොත් කොහොම බලපෑමක් එයිද ? නමුත් අර කන් යොමුවට සම්බන්ධ රැහැන් දිගේ එන්නෙ ඉතා කුඩා විදුලි ධාරාවක්. ඒකෙ බලපෑම නොගිනිය හැකි තරම් කුඩායි.

ඊළඟට බ්ලූටූත් තාක්ෂණය කියල දෙයක් තියෙනවා. ඒකෙදි එන බලපෑම කන් යොමුවට වඩා වැඩි වුනත් කනේ තියාගෙන කතා කරනවට වඩා බලපෑම අඩුයි. එතනදි දුරකතනයෙන් තරංග උත්පාදනය වෙනව ☞

මිසක් බ්ලූටූත් එක නෙවෙයි තරංග නිපදවන්නෙ. ඉතිං දුරකතනය සහ බ්ලූටූත් අතර තියෙන්නෙ පොඩි දුරක්. ඒ විද්‍යුත් චුම්බක තරංග දුරකතනයට ඇවිත් රැහැන් වෙනුවට තමයි බ්ලූටූත් එකට යන්නෙ.

හැබැයි මේ ක්‍රම දෙකටම වඩා **හොඳම ක්‍රමය තමයි දුරකතනයේ ශබ්ද විකාශන යන්ත්‍රය (ස්පීකර්ස්) ක්‍රියාත්මක කරල අතින් අල්ලන්නෙ නැතිව මේසයක් වගේ දෙයක් මත තියාගෙන කතා කිරීම.** නමුත් ඉතිං කාර්යාලයක වැඩ කරනකොට හෝ ඝෝෂාකාරී තැනක ඉන්නකොට හෝ ඒක ප්‍රායෝගිකව කරන්න අපහසු නිසා කන් යොමුවක් පාවිච්චි කිරීම තමයි ඒ වගේ අවස්ථාවලදී අනුගමනය කරන්න තියෙන ආරක්ෂිතම ක්‍රමවේදය. ඊළඟට භයානකම ක්‍රමය තමයි දුරකතනය කෙලින්ම කනේ තියාගෙන කතා කිරීම.

දුරකතනයේ ශබ්ද විකාශන යන්ත්‍රය ක්‍රියාත්මක කරල අතේ තියාගෙන කතා කළත් ඒ අහිතකර බලපෑම එක්තරා මට්ටමකට තියෙනවා. මොකද කුළුණත් එක්ක දුරකතනය සම්බන්ධ නිසා විද්‍යුත් චුම්බක තරංග උත්පාදනය වෙලා ඇදල ගන්නෙ අතේ තියෙද්දීමයි. ඒක අතටත් එක්තරා මට්ටමකට හානි කරයි. අත කියන්නෙත් ශරීරයේ කොටසක්. නමුත් අතට වඩා කනේ තියාගෙන කතා කරනකොට ඒ බලපෑම වැඩියි. එතකොට මොළය ඇතුළු සියළුම අවයවයන්වල ක්‍රියාකාරීත්වය අවුල් වෙනවා. සමහරු කන් යොමුව පැළඳගෙන දුරකතනය අතේ තියාගෙන කතා කරනවා. නමුත් ඒකත් සුදුසු නෑ. දුරකතනය ශරීරයට ස්පර්ශ නොකර යමක් උඩ තියාගෙන කතා කරන්න ඕන. මොකද හැම තිස්සෙම දුරකතනය තමයි තරංග උත්පාදනය කරල ලබා ගන්නෙ සහ පිට කරන්නෙ. ඒ උත්පාදනය වෙනකොට දුරකතනය අවට කලාපයත් හානි කරයි. ඉතිං එතනදි දුරකතනය තියන්න ඕන අවම දුර හරියටම හොයාගන්න නම්, ඕරා කැමරාවකින් පරීක්ෂා කරල හානි නොවෙන මට්ටම සොයාගත යුතුයි. මොකද දුරකතනයේ තරංග උත්පාදනය කරනකොට ඒ වටා පරිසරයේ එක්තරා කලාපයක්ම ඒ බලපෑමට යටත් වෙනවා. ඒ කලාපය වටා කාන්දම් ක්ෂේත්‍රයක් ඇතිවෙනවා. අන්න ඒ කලාපයෙන් පිටත ඉඳගෙනයි කතා කරන්න ඕන.

ඉතිං ඒ කලාපය දළ වශයෙන් ගන්න පුළුවන්. සාමාන්‍යයෙන් කන් යොමුවේ උපරිම දිගට ආසන්නයෙන් දුරකතනය තියා ගත්තම ඒ බලපෑම අවම වෙනවා. එහෙම නැත්නම් සාමාන්‍යයෙන් අතේ දුරින් තියාගත්තම ප්‍රමාණවත්. ඒ නිසා අවස්ථානුකූලව බලල, වෙන තියාගන්න තැනක් නැත්නම් දුරකතනය කකුලක් උඩ තියා ගත්තත් ලොකු බලපෑමක් නෑ. මේ කියන හැම තත්ත්වයක්ම දිගින් දිගටම ගියොත් තමයි හානිවන අවස්ථාවක් එන්නෙ.

ඉතිං මේ කිරණ විහිදෙන්නෙ අරීයව. ඒ නිසා ජංගම දුරකතනයේ සිට දුර වැඩි වෙනකොට ඒ කිරණ බලපෑමත් අඩු වෙනවා. කිරණවල තීව්‍රතාවය ඒ දුරේ වර්ගයට සමානුපාතයි. ඒ නිසා දුර වැඩිවෙනකොට බලපෑම අඩු වෙන්නෙ දුරේ වර්ගයට සමානුපාතිකව. වෙනත් විදිහකින් කිව්වොත්, ඉතා කුඩා දුරක් ජංගම දුරකතනයේ සිට ඈතට ගියත් ඒ එන බලපෑමේ අඩු වීම හුඟක් වැඩියි. අඩියක් ඈත් කළාම අඩියට සමානුපාතිකව නෙවෙයි, ඒ අඩියේ වර්ගයට සමානුපාතිකවයි බලපෑම අඩු වෙන්නෙ. ඒ වගේම තමයි ඒකෙ අනික් පැත්ත. දුරකතනය ටිකක් ළං කරනකොට එන අහිතකර බලපෑම වැඩි වෙන්නෙත් ඉතා සීඝ්‍රයෙන්. ඒකත් අර වර්ගයට සමානුපාතිකවයි වැඩි වෙන්නෙ. විදුලි බුබුලක් පත්තු වෙනකොට එළිය ඈතට විහිදෙන්නෙත් ඒ වගේ. මේ නිසා **ජංගම දුරකතනයක් කනට ළං කරගෙන, හදවතට ළං කරගෙන කතා කිරීම අනතුරුදායක බව වැඩියි.**

දැන් මේ විදිහට එක දිගටම ජංගම දුරකතනය කනේ තියාගෙන පාවිච්චි කිරීම නිසා මොළේ පිළිකාවක් හැදිල මියගිය බටහිර ජාතිකයෙක් ගැන මීට අවුරුදු කිහිපයකට පෙර වාර්තා වුනා. ඒ පුද්ගලයගෙ මොළේ කපල බැලුවම පිළිකාව පැතිරිච්ච ප්‍රදේශයේ සෛල හරියට ඒ කාලෙ තිබ්බ්ච ජංගම දුරකතනවල ඇහැසියේ හෙවත් ගුවන් කම්බියේ (ඒරියල්) හැඩයටම තමයි සකස් වෙලා තිබුනෙ. මොකද දුරකතනයට ඒරියල් එකෙන් තමයි ඒ ශක්තිය ඇදල ගන්නෙ. ඉතිං ඒක කනේ තියාගත්තම ඒ බලපෑමෙන් මොළේ සෛලත් ඊට අනුකූලව හැඩ ගැහෙනවා. හරියට අර කලින් විස්තර කරපු විදිහට යකඩ කුඩු ටිකක් කාන්දම් කැල්ලකට ඇල්ලුවම ඇතිවෙන රටාව වගේ. එතකොට ඒවායේ ඉලෙක්ට්‍රෝන එහා මෙහා වෙලා ව්‍යුහය වෙනස් වීමක් තමයි සිද්ධ වෙන්නෙ.

දැන් එතකොට මේ කයත් දිනපතා ඊට අනුකූලව වෙනස් වෙවී ගිහින් කාලයක් ගියාම ඒ හැඩයටම ස්ථාවර වෙන්න පටන් ගන්නවා. ඒ කියන්නෙ ශරීරයේ පදාර්ථවල තියෙන විද්‍යුත් චුම්බක තරංගවල හැඩය අර හැඩයට අනුගත වෙනවා. එතකොට මොළයේ තියෙන සුද්ධ කිරණ පිච්චිලා කළු කිරණ කලාපයක් හට ගන්නවා. කළු කිරණ කියන්නෙ අමනුස්සයන්ට අවශ්‍ය පරිසරය. ඉතිං ඊළඟට මොළයේ සෛලවලට අමනුස්සයො අරක් ගන්නවා. ඒකෙන් පිළිකා හට ගැනීමේ සම්භාවිතාව ඉහළ යනවා. මේ සිද්ධියට අමතරව ජංගම දුරකතනයේ අහිතකර බලපෑම නිසා ශරීරයේ පිළිකා හට ගත්තු තවත් අය ගැන වාර්තා වෙලා තියෙනවා.

මේ වගේ අපි ඕනම දෙයක් වැරදි විදිහට පරිහරණය කරනකොට ඊට අදාළ ස්ථානවල කළු කිරණ වැඩියෙන් හට ගන්නවා. කළු කිරණ කියන්නෙ රාග, ද්වේශ, මෝහවලට පරිසරය. දැන් මේ ළඟදි එළිදක්වපු වාර්තාවකින් කියවුනා, එක්තරා බටහිර රටක නිළියො 95% ක්ම මියගිහින් තියෙන්නෙ පියයුරු පිළිකාවලින් කියල. මොකද ඒ අය හැමතිස්සෙම ඒ ඉන්ද්‍රියන් නිරාවරණය කරගෙන කාමය පැත්තටමයි යොදවන්නෙ. එතකොට හැදෙන කළු කිරණ කලාප අමනුස්සයන්ට අරක් ගන්න පරිසරය නිර්මාණය කරනවා. ඉතිං පිළිකා වැඩිපුර හැදෙන ස්ථාන ගැන බැලුවොත් කාමයට යොදවන ශරීරයේ ස්ථාන තමයි බොහෝකොටම ගොදුරු වෙන්නෙ. (මේ පිළිබඳ විශේෂ විග්‍රහයක් හෙළ බොදු පියමු 15 වන කලාපයේ විග්‍රහ කරල තියෙනවා.) කාමයට පරිසරය සකස් කරල දීල රාග, ද්වේශ, මෝහ සහිතව ක්‍රියා කරනකොට පිළිකාවට හේතු යෙදෙනවා. මොකද ධර්මය පැත්තෙන් බැලුවොත් පිළිකාවක් හට ගන්න මනස මුල් වෙච්ච හේතුවක් තියෙන්නම ඕන. නිකං බාහිර පරිසරයෙන් විතරක් හටගන්න විදිහක් නෑ. එහෙම කිව්වොත් ධර්මයට ගලපන්න බෑ.

ඉතිං මේ කාරණය මේ විදිහට පැහැදිලි කරන්න පුළුවන්. ☞

සාමාන්‍ය මනුස්සයෙක් ඉන්නෙ ප්‍රකෘති ස්වභාවයෙන්. ඒ තත්ත්වය අර විකෘති කිරණ ඇවිත් එක දිගට ගට්ටනය වෙනකොට කාලයක් යද්දි ඒ ස්ථානයත් විකෘති ආකාරයකට හැඩ ගැහෙන්න පටන් ගන්නවා. උදාහරණයක් විදිහට **ගස්වැල්වලට කවුරුහරි එක දිගටම ද්වේශ සහගතව බැනගෙන ගියොත්, කාලයක් යද්දි ඒ ගස්වැල් මැළවිලා යනවා. මොකද ඒ ද්වේශ සහගත කිරණ අපෙන් පිටවෙලා ගිහින් ගස්වැල්වල වැදිල ඒවායේ තියෙන ප්‍රකෘති ස්වභාවය විකෘති කරනවා. අනු නාදයෙන් තමයි ඒ ස්වභාවික ආකෘතිය විකෘති කරන්නෙ.** ඒ වගේ තමයි විස කිරණවලින් එක දිගටම කාලයක් ගට්ටනය වෙලා ඒ ස්වභාවික ආකෘතිය විනාස කරල දානවා. හැබැයි මේ ක්‍රමය හොඳ පැත්තට යොදා ගන්නත් පුළුවන්. (මිරිස් පැළවලට ආර්ය මෛත්‍රී භාවනා කිරීම ගැන... 47 කලාපයේ විස්තර කළ "වාස්තු විද්‍යාවේ හේතුඵල සම්බන්ධය දහම් ඇසින්" ලිපිය බලන්න.) ඉතිං මේ ක්‍රමවේදය දැනට ලෝකයේ තියෙන නවීන විද්‍යාවෙනුත් පිළිඅරගෙන තියෙනවා. හැබැයි මේ කියන එකක්වත් අන්ධයො වගේ පිළිගන්න අවශ්‍ය නෑ. තමන්ටම මේ කාරණාවල සත්‍ය අසත්‍යතාවය ප්‍රායෝගිකව පරීක්ෂා කරල බලන්න පුළුවන් ක්‍රම තියෙනවා. එතකොට කාගෙන්වත් අහන්න ඕන නෑ. තමන්ටම වැටහෙනවා මේ තුළ හානියක් තියෙන බව.

දැන් ඉතිං මේ ජංගම දුරකතනයෙන් එන බලපෑම අපේ රටට තවම හරියට දැනිල නැතිවෙන්න පුළුවන්. මොකද මේ රැල්ල ඇවිත් තවම අවුරුදු 10 - 15 කට වැඩිය නෑ. තවත් අවුරුදු 10 - 15 ක් විතර යනකොට තමයි ඒ බලපෑම තදටම දැනෙන්නෙ. හැබැයි මේ ක්‍රමවේදය දැනගන්න කල් ජංගම දුරකතන නිසා ඒ හානිය සිද්ධ වුනයි කියල හුඟක් අය පිළිගන්න එකක් නෑ. ඒකට වෙන වෙන හේතු ඉදිරිපත් කරන්න පුළුවන්. හරියට අර වස විස භාවිතය නිසා එකපාරටම මැරෙන්නෙ නෑ වගේ. කාලයක් ගිහින් තමයි වකුගඩු නරක් වෙලා මාරාන්තික මට්ටමට එන්නෙ. එදා වෙච්ච ඒවායේ ප්‍රතිඵල එන්නෙ පසුකාලීනව. මොකද ඕනම දෙයක් සිද්ධ වෙන ධර්මතාවයක් තියෙනවා. කර්ම, ධර්ම, ආරම්මන, විපාක කියන පිළිවෙලට තමයි ඒවා වැඩිල ක්‍රියාත්මක වෙන්නෙ. නමුත් පිළිගත්තෙ නැතුවට, **දැනටමත් මේවායේ බලපෑම ඇවිත් තියෙන්නෙ. ස්නායු ආබාධ, මානසික ආතතිය, කැරකිල්ල, හිසරදය... වගේ විවිධ රෝග නැති කෙනෙක් අද වෙනකොට සොයා ගන්නත් නැති තරම්. තරුණ වයසෙ ඉඳන්ම බහුලයි.**

හැබැයි සමහර දියුණු රටවල එක්තරා වයස් සීමාවක් පනවල ඒ සීමාවට වඩා වයස අඩු ළමයින්ට ජංගම දුරකතන භාවිතය තහනම් කරල තියෙනවා. ඒ වගේම විකිරණ නිරාවරණය වීම අවම කරන්න කන් යොමු වගේ උපාංග නැතිව දුරකතන අලෙවිය තහනම් කරල නීති පනවල තියෙනවා. ඊට අමතරව මේ ජංගම දුරකතන භාවිතය පිළිබඳව පූර්වාරක්‍ෂණ උපදෙස් ලබා දීල ජනතාව දැනුවත් කරන්නත් සමහර රටවල් පියවර අරගෙන තියෙනවා. ඒ වගේම සමහර දුරකතන නිෂ්පාදන සමාගම් මේ සඳහා දැනටමත් නිර්දේශයන් ඉදිරිපත් කරල තියෙනවා. ඒවා අන්තර් ජාලයෙන් බලාගන්න පුළුවන්.

මේ සඳහා විද්වතුන් සහ විද්වත් ආයතන යම් කිසි මග පෙන්වීම් කිහිපයක් එළි දක්වල තියෙනවා. ඉතා කෙටි ඇමතුම් සඳහා පමණක් ජංගම දුරකතන භාවිතා කිරීම, පුළුවන් හැම අවස්ථාවකම ස්ථාවර දුරකතන භාවිතා කිරීම, කෙටි පණිවිඩ දැනුම් දීම් සඳහා ඇමතුම් නොගෙන එස්. එම්. එස්. ක්‍රමය භාවිතා කිරීම, ළමා වයස්වල පසුවන අය පුළුවන් තරම් ජංගම දුරකතන භාවිතයෙන් වැළකීම, දුරකතනය ක්‍රියාත්මක කර ඇති විට හෝ කතා කරන විට සාක්කුවේ හෝ බඳ පටියේ හෝ රඳවා නොගෙන වෙනත් ආධාරකයක් මත රඳවා තැබීම, ගැබිණි මව්වරුන් මේ උපදෙස් වඩාත් සැළකිලිමත්ව පිළිපැදීම, දුරකතන සංඥා අඩු අවස්ථාවලදීත්, දුරකතනයේ විද්‍යුත් කෝෂවල ආරෝපණය අඩු අවස්ථාවලදීත් ඇමතුම් ලබා ගැනීමෙන් වැළකීම, සංඥා නිතර නිතර අඩු වැඩි වන අවස්ථාවලදී ඇමතුම් ලබා ගැනීමෙන් වැළකීම, ගමන් කරන විට ඇමතුම් ලබා ගැනීමෙන් වැළකීම, වාහන වගේ සංවෘත ස්ථානවල අනාරක්ෂිතව ඇමතුම් නොගැනීම.

මේ අවසන් කාරණා 4 ට බලපාන්නෙ, ඒ වගේ අවස්ථාවල සම්බන්ධතාවය පවත්වා ගැනීම සඳහා ජංගම දුරකතනය වැඩි ආයාසයකින් වැඩි විද්‍යුත් චුම්භක තරංග ප්‍රමාණයක් පිට කිරීම. මොකද එතකොට එකම විදිහට එකම වේගයෙන් ඒ සංඥා තරංග එන්නෙ නැති නිසා ඒවා ඇදල ගන්න දුරකතනය දැඩි උත්සාහයක් දරන කොට ඒ කිරණ අවුල් වෙලා අලුතින් විස කිරණ හටගන්නවා.

මේ කියපු ආරක්ෂිත ක්‍රමවේදවලට අමතරව, මේ වගේ හානිවලට නවීන විද්‍යාවෙන් පිළියම් යොදන්න පුළුවන්. දුරකතනයට එන ශරීරයට හානිකර කිරණ ඉවත් කරන ක්‍රමවේද තියෙනවා. ඒවා පෙරිල යන්න රත්රන්, රිදී, ප්ලැටිනම් වගේ ලෝහ ආලේප කරන ක්‍රම තියෙනවා. ඉස්සර ජංගම දුරකතනවලට අලවන කුඩා ස්ටිකරයක් ආවා. දුරකතන ඇමතුමක් එනකොට ඒකෙන් පුංචි ආලෝකයක් විමෝචනය වෙනවා. ඒකෙන් අර බාහිරින් එන අමතර කිරණ අවශෝෂණය කරල පුච්චල දැමීමක් තමයි කරන්නෙ. ඒ ස්ටිකරය පුංචි වුනාට ඒකෙන් උත්පාදනය කරන ශක්තියෙන් අර බලපෑම අවම කරන්න පුළුවන්. උදාහරණයක් විදිහට යම් කිසි ස්ථානයක අනවශ්‍ය විදිහට තාපය උත්පාදනය වෙනව නම්, ඒ අනවශ්‍ය තාපය යම් කිසි ක්‍රමයකින් ඇදල අරගෙන වෙනත් හානිකර නොවන දෙයකට ප්‍රයෝජනයට ගන්නව වගේ වැඩක්. ඒ වගේ මෙතනදි ඒ අනවශ්‍ය විකිරණ ඇදල අරගෙන ඒ ශක්තියෙන් තමයි කුඩා ආලෝකයක් විමෝචනය වෙන්නෙ. ඉතිං ආලෝකයක් විමෝචනය වුනයි කියල ඒකෙන් හානියක් නෑ. එතකොට අහිතකර විකිරණවල බලපෑම කැපිල යනවා.

කොහේ හරි තැනක අනවශ්‍ය විදිහට කම්පනය වෙලා තරංග නිකුත් කරනව නම් ඒක වෙනත් එකකින් කපා හරින්න පුළුවන් ක්‍රම තියෙනවා. ඉතිං මේ වගේ පිළියම් යොදල, සිද්ධ වෙන්න තියෙන හානිය අවම කරනව හැරෙන්න 100% ක්ම ඒ බලපෑම නැති කරන්න බෑ. විද්‍යුත් චුම්භක තරංග උත්පාදනය වෙන, විශේෂයෙන් රැහැන් රහිත හැම උපකරණයකම ඒ බලපෑම තියෙනවා. ඒවායේ හානිවන මට්ටම විතරක් අයින් කරන්න පුළුවන්. ජංගම දුරකතනයේ ඒ බලපෑම සාපේක්ෂව අධික නිසයි මේ හෙළිදරව් කිරීම කළේ.

**සටහන**
**නිතිශ්‍ය චන්දන සිරිවර්ධන**



# මෙනෙහි කළ යුත්ත සහ මෙනෙහි නොකළ යුත්ත

## ඔබ ප්‍රඥාවන්තයෙක්ද?

**7 වන කොටස**

**ශ්‍රාවක :** පසුගිය සාකච්ඡාවලදී, බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන් මේ ලෝකයේ සත්‍යාවබෝධයට හේතු වන, නමුත් වැරදියට වටහා ගැනීම නිසා කවදාවත් සත්‍යය දැක ගන්න බැරිව හිටපු අයට නිවැරදිව ධර්මය අවබෝධ කරගන්න උදව් වන වැදගත් ධර්ම කරුණු රාශියක්ම විස්තර කරන්න, පුළුවන් තරම් උත්සාහ කළා. භාවනාව ගැන තමයි අපි තවම කතා නොකළෙ. අපේ වැඩි දෙනෙක් නිතරම උනන්දු වෙන්නෙ භාවනා කරන්න තමයි. භාවනා පන්තිත් අද වෙනකොට ගොඩක් තියෙනවා. ඒ නිසා භාවනා ගැනත් කතා කළොත් හොඳයි නේද?

**දේශක :** හොඳයි අපි භාවනාව ගැන කතා කරමු. බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද සබ්බාසව සූත්‍රයේ (මජ්ජිම නිකාය - 1, 19 පිටුව) සඳහන් වෙන්නෙ, කෙළෙස් පහ කරන ක්‍රම 7 ක් ගැන. ඒවායින් පළවෙනි ක්‍රමය තමයි දස්සනේන පහාතබ්බ හෙවත් දර්ශනයෙන් පහ කිරීම. ඒ කියන්නෙ ඉස්සෙල්ලම බණ අහල කෙළෙස් පහ කර ගැනීම. සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන සංයෝජන 3 තමයි ඒ විදිහට පහ කරගන්නෙ. 7 වන අංගය හැටියට තමයි භාවනා කරන්න කියල තියෙන්නෙ.

**ශ්‍රාවක :** මම භාවනා පංතිවලට ගිහිල්ල තියෙනවා. ඒත් භාවනා කරන්න කලින් ඒ වගේ සම්පූර්ණ කරන්න ඕන කාරණා 6 ක් ගැන නම් කතා කළේ නෑ.

**දේශක :** භාවනාවට පෙර දැනගත යුතු මේ කාරණා ගැන දන්නෙ නැතිව මොනව කරන්න හිතලද භාවනා පන්තියට සම්බන්ධ වුනේ?

**ශ්‍රාවක :** මානසික ආතතිය දුරු කරගන්න, මේ කරදරකාරී ලෝකයෙන් මිදිල ටික වෙලාවක් හරි සැනසීමෙන් ඉන්න.

**දේශක :** ඒ කියන්නෙ ඔබට නිවන් දකින්න භාවනා කරන්න උවමනාවක් තිබිලම නෑ.

**ශ්‍රාවක :** ඔව්. ඇත්තම කියනව නම්, මට නිවන් දකින්න ඕනකමක් තිබුනෙම නෑ. හැබැයි පංතියට වැඩි දෙනෙක් ඇවිත් හිටියෙ නිවන් දකින්න භාවනා කරන්න තමයි. අපි හැමෝටම උපදෙස් ලබා දුන්න දේශකයන් වහන්සේ කියපු විදිහට ඒ ඒ දේවල් කරල බැලුවා. ඒ දේවල් කළාම කොහොමද නිවන් දකින්නෙ කියල නම් කවුරුවත්ම ඇහුවෙ නෑ.

**දේශක :** යම් අයෙකුට නිවන් දකින්න භාවනා කරන්න උවමනාවක් නැත්නම්, මේ අංග 7 න් දර්ශනයෙන් පහ කළ යුතු කෙළෙස් පහ කරගන්නෙ නැතිව ඒ භාවනා කළා කියල ඒ අයට ප්‍රශ්නයක් වෙන්නෙ නෑ. ලෞකික දැහැන්වලට පවා යන්න පුළුවන්. හැබැයි නිවන නෙවෙයි.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ නිවන් දකින්න භාවනා කරන, එහෙමත් නැත්නම් මේ සංසාර ගමනින් එතෙර වෙන්න භාවනා කරන අය දර්ශනයෙන් පහ කරගත යුතු කෙළෙස් පහ නොකර භාවනා කළොත් ඒ අයට ප්‍රශ්නයක් වෙනව කියන එකද?

**දේශක :** ඔව්. ඒ අයට වෙන්න පුළුවන් අනතුර ගැන පැහැදිලිව සබ්බාසව සූත්‍රයේ විස්තර කරල තියෙනවා. ඒ විතරක් නෙවෙයි, අංගුත්තර නිකායේ 1 වන කාණ්ඩයේ ප්‍රභාශ්වර වග්ගයේ 21 පිටුවේ, අශ්‍රැතවත් පෘතජ්ජන පුද්ගලයාට චිත්ත භාවනාවක් නොකියම් කියලත් දේශනා කරල තියෙනවා. පෘතජ්ජනයා කියන්නෙ මේ ලෝකයේ සැබෑ තත්ත්වය විග්‍රහ කෙරෙන ශ්‍රී සද්ධර්මය නිවැරදිව අහල දැනගත්තෙ නැති කෙනෙක්.

**ශ්‍රාවක :** එහෙනම් ඔය හැම කෙනාම, නිවන් දකින්න නම් භාවනා කරන්න ඕන කියල හිතල පළමුවෙන්ම භාවනා කරන්න පන්තිවලට යන්නෙ වැරදියට වටහගෙන නේද? බුදු රජාණන් වහන්සේ ඉතා පැහැදිලිවම කරන්න එපා කියපු එක නේද ඔය කර කර ඉන්නෙ? ඒ නිසාම අපි මේ සබ්බාසව සූත්‍රය ගැන කතා කරන එක වැඩි දෙනෙකුට ප්‍රයෝජනවත් වේවි. මුලින්ම ඔය ආශ්‍රව කියන්නෙ මොනවද කියල පැහැදිලි කරල දෙන්න.

**දේශක :** අපි මේ ලෝකයට තදින්ම ඇලිල ඉන්න ක්‍රමවේදයට තමයි ආශ්‍රව කියන්නෙ. ඒවා සියලු කෙළෙස් හැටියට හිතන්නත් පුළුවන්. ඒ විදිහට ලෝකයට ඇලීමෙන් ඈසුරු කරන ක්‍රම සියල්ලෙන්ම මිදෙන ආකාරය තමයි සබ්බාසව සූත්‍රයෙන් දේශනා කරල තියෙන්නෙ.

**ශ්‍රාවක :** එහෙනම් මේ සූත්‍රයෙන් අපිට පෙන්වන්නෙ නිවන් දකින ක්‍රමයක්ම තමයි. මේ සූත්‍රයෙන් දේශනා වන අංග හතේ තියෙන විශේෂත්වය මොකක්ද?

**දේශක :** ඔව් මේ අංග හතේ විශේෂ වැදගත්කමක් තියෙනවා. මෙතන විස්තර කරන්නෙ ඒ ඒ ආශ්‍රවයන් පහ කිරීම පෙන්වා ☞

දෙන ක්‍රම හත. යම් ආශ්‍රවයක් පහ කරන්න අවශ්‍ය නම් ඒ පෙන්වා දෙන ක්‍රමයෙන්ම පහ කළ යුතුයි.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ අපිට මේ ලෝකෙට බැඳෙන යම් ආශ්‍රවයක් පහ කරන්න අවශ්‍ය නම්, බුදු රජාණන් වහන්සේ පෙන්වා දෙන ක්‍රමයෙන් මිසක් වෙන ක්‍රමවලින් බෑ කියන එකද?

**දේශක :** ඔව්. ඒ අංග 7 ත්‍රිපිටකයේ සඳහන් වෙන ආකාරය බැලුවම ඒ බව හොඳින්ම පැහැදිලි වෙනවා.

දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රව දර්ශනයෙන්ම පහකළ යුතුයි.
සංවරයෙන් පහකළ යුතු ආශ්‍රව සංවරයෙන්ම පහකළ යුතුයි.
ප්‍රත්‍යවේක්ෂයෙන් පහකළ යුතු ආශ්‍රව ප්‍රත්‍යවේක්ෂයෙන්ම පහකළ යුතුයි.
අධිවාසනායෙන් පහකළ යුතු ආශ්‍රව අධිවාසනායෙන්ම පහකළ යුතුයි
පරිවර්ජනයෙන් පහකළ යුතු ආශ්‍රව පරිවර්ජනයෙන්ම පහකළ යුතුයි.
විනෝදනයෙන් පහකළ යුතු ආශ්‍රව විනෝදනයෙන්ම පහකළ යුතුයි.
භාවනාවෙන් පහකළ යුතු ආශ්‍රව භාවනාවෙන්ම පහකළ යුතුයි.

**ශ්‍රාවක :** භාවනා කරන්න කියල තියෙන්නෙ හත් වෙනි අංගය හැටියට. භාවනා කරන්න ඉස්සෙල්ල ගොඩක් දේවල් කරන්න තියෙනව වගේ පේන්නෙ. මේ විදිහට පැහැදිලිවම බුද්ධ දේශනාවෙ තියෙද්දි, ඇයි මේ හුගක් අය කලබලයෙන් භාවනා කරන්න යන්නෙ?

**දේශක :** ඒකට කාලාම සූත්‍රයේ උත්තරයක් තියෙනවා. ඒ ගැන ඔබට මතක ඇති.

**ශ්‍රාවක :** ඔව් මට මතකයි. එක එක අය එක එක විදිහට කියන ඒවා පිළිගන්නෙ නැතිව තමන්ම විමර්ශනය කරල බලල දහම වටහා ගන්න කටයුතු කරන්න කියල කියන එකනෙ ඒකෙන් කියන්නෙ. ඇත්තටම බුදු රජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය ත්‍රිපිටකයේ සඳහන් වෙලා තියෙන්නෙ කොහොමද කියල පොඩ්ඩක් හොයල බැලුව නම්, ඒ අය ඔය විදිහට අමාරුවෙ වැටෙන්නෙ නෑ.

**දේශක :** ඔව් අපි දැන් බලමු මේ අංග හත මොනවද කියල. මුලින්ම තියෙන්නෙ දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රව. දර්ශනයෙන් කියල කියන්නෙ, දැකගන්න කියන එක. ඒ ආශ්‍රවය පහ කරන්න නම් දකින්න දෙයක් තියෙනවා.

**ශ්‍රාවක :** ඇයි මේ දැනගන්න කියන්නෙ නැතිව දැක ගන්න කියන්නෙ?

**දේශක :** දකින්න තියෙන්නෙ මේ ලෝකෙ හැටි. ඒ කියන්නෙ මේ ලෝකය ඔබට පේන හැටි නෙවෙයි. මේ ලෝකයේ සැබෑ තත්ත්වය තමයි දකින්න ඕන. හැබැයි ඒක ඇස් දෙකෙන් දකින්න පුළුවන් දෙයක් නෙවෙයි. නුවණැසින් දකින්න පුළුවන් දෙයක්. ඒ කියන්නෙ ප්‍රඥාවෙන්. තවත් විශේෂයක් තියෙනවා. ඒ කාරණය මුලින්ම ලොව්තුරා බුදුන් වහන්සේ නමක් පහළ වෙලා පෙන්වා දෙනකල්ම සාමාන්‍ය මිනිස්සුන්ට තනියෙන් දකින්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ නිසාම තමයි, පෙර නොඇසූ දහමක් කියල කියන්නෙ. අපි මේ සාකච්ඡාව පටන් ගත්තු මුල් අවස්ථාවෙ ඉඳලම කතා කරපු සියලු දහම් කරුණු අයත් වෙන්නෙ දැකල පහ කරන කොටසට තමයි. ත්‍රිපිටකයේ බොහෝ සූත්‍රවලින් බුදු රජාණන් වහන්සේ පෙන්වා දීල තියෙන ආකාරයට, මේ ලෝකයේ යථා ස්වභාවය තේරුම් කරල දෙන ධර්මයක් ශ්‍රවණය කරන කොට තමයි ඇත්ත වැටහෙන ප්‍රඥාව හෙවත්, දකින්න පුළුවන් වෙන නුවණ නමැති ඇස පහළ වෙන්නෙ. ඒ විදිහට පහළ වෙන නුවණ නමැති ඇහෙන් බලන කොට තමයි මේ ලෝකය අනිච්චයි දුක්ඛයි අනත්තයි කියල වැටහෙන්නෙ.

ඒ ආකාරයට මේ ලෝකයේ සත්‍ය ස්වභාවය දැක්ක අය තමයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ... ආදිය සමග ඇලීම හෝ ගැටීම කිසිම තේරුමක් නැති, හරයක් නැති, තමන්ට මහ විනාසයක් සිද්ධ වෙන අනර්ථ වැඩක් කියල හිතල ඇලීමෙනුයි ගැටීමෙනුයි මිදෙන්න උත්සාහ කරන්නෙ. ඒක දැකගන්න එක ක්‍රමයක් තමයි විජානාති, පජානාති දෙකෙන් පැහැදිලි කරල දුන්නෙ. විඤ්ඤාණ මායාවට අහුවෙලා, ලෝකය තමන්ට අවශ්‍ය විදිහට කැමති අකමැති දේවල් අනුව බෙදාගෙන, කැමති ඒවට ඇලිල, අකමැති ඒවත් එක්ක ගැටිල තමන්ම ඉතාම පහත් තත්ත්වයකට ඇද දමා ගැනීම තමයි විජානාති විදිහට ලෝකය ඇසුරු කරනව කියල කියන්නෙ. ලෝකයේ යථා ස්වභාවය දකින්න පුළුවන් ප්‍රඥාවන්තයින් ඔය විඤ්ඤාණ මායාවට අහු නොවී, ඇලෙන්නෙ නැතිව ගැටෙන්නෙ නැතිව ඉන්න උත්සාහ කරනවා. එහෙම කරන්න පුළුවන් වෙන්නෙ දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රවයන් පහ කරගත්තු අයටම තමයි.

**ශ්‍රාවක :** එතකොට අපි මාගන්ධි සූත්‍රයෙන් ආරෝග්‍යා පරමා ලාභා කියන ගාථාවෙ නිවැරදි අර්ථය කතා කරන කොට, විපරීත සංඥාවකට රැවටිලා ලෝකයට ඇලෙන ක්‍රමයක් ගැන සාකච්ඡා කළා. ඒකත් දර්ශනයෙන් පහ කිරීමක්ද?

**දේශක :** ඔව්, මේ ලෝකයේ අසාරත්වය වටහගත්ත කෙනෙකුට ඒක විවිධ ආකාරයෙන් පැහැදිලි කරගන්න පුළුවන්. බුදු රජාණන් වහන්සේගෙ සූත්‍ර දේශනාවල විවිධ ක්‍රමවේද පෙන්වල දීල තියෙනවා. සාමාන්‍ය අය රාගයෙන් ද්වේශයෙන් වැඩ කරන්න පෙලඹිලා ඉන්න අවස්ථාවල ඒ අනුවම ඒ අයගෙ ඉන්ද්‍රියන් විපරීත තත්ත්වයකට පත් වෙනවා. එතනදි බුදු රජාණන් වහන්සේ කුෂ්ට රෝගියෙක් උදාහරණයකට අරගෙන පැහැදිලි කළේ මේ විපරීතය තමයි. කුෂ්ටයක් තියෙන තැන ගිනි රස්නෙ තියෙන උණු අළු පොට්ටනියකින් තැව්වොත් එතන පිච්චෙනව වුනාට ඒ ස්වභාවය දැනෙන්නෙ සැපක් විදිහට. එහෙම වෙන්නෙ, ඒ අවස්ථාවෙ සම නමැති ඉන්ද්‍රිය කුෂ්ටය නිසා විපරීත වෙලා තිබුන නිසා.

ඒ ආකාරයට රාගිකව ඉන්ද්‍රියන් හසුරුවද්දි, ඒ අනුව විපරීත තත්ත්වයට පත්වෙච්ච මනස හරහා මුළා වූ සුව මාත්‍රයක් දැනුනත්, ඇත්ත වශයෙන්ම ලෝකයේ එහෙම සැපක් හෝ දුකක් නැති බව තේරුම් ගත්තු අය ඔය ආස්වාද පස්සෙ හඹා යන එක අත් හරිනවා. මේ විදිහට ලැබෙන මුළා ආස්වාදය නිසා ලෝභ වීමෙන් හෝ ද්වේශ වීමෙන් හෝ තමන් පහත් තත්ත්වයකට පත්වෙන බව දැකල අවබෝධයෙන් ඉන්න අය, ප්‍රඥාවෙන් මුළාවට නොරැවටී ඔය විදිහට ලබන වේදනා, උපේක්ෂාවෙන් ඉවසගෙන ඉන්නවා. ඇලෙන්න ගැටෙන්න යෑමෙන් වලකිනවා. මෙහෙම කරන්නෙත් දර්ශනයෙන් පහකර ගැනීම කරපු පිරිසක්ම තමයි.

**ශ්‍රාවක :** මගේ යාළුවන්

අතරෙ මේ ධර්මය ගැන උනන්දුවක් දක්වන වැඩි දෙනෙක් භාවනා කරන්නත් යනවා. මගෙනුත් අහනව භාවනා පන්ති යන්නෙ නැත්ද කියල. බුදු හාමුදුරුවො අපිට කරන්න කිව්වෙ මොකක්ද කියල හරියට දන්නෙ නැති අය මොනවද භාවනා කරනව කියල කරන්නෙ?

**දේශක :** ඔව් ඒක නම් ඇත්ත තමයි. විවිධ භාවනා ක්‍රම උගන්වන පන්ති තියෙනව තමයි. අපේ ගෞරවනීය ස්වාමීන් වහන්සේලාත් අපිට භාවනා ක්‍රම කියල දෙනවා. අපි හැමෝටම ඉතාමත්ම වටිනා පැහැදිලි කිරීමක් මේ සබ්බාසව සූත්‍රයෙදි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

**ශ්‍රාවක :** මුලින්ම අපි කතා කරපු විදිහට භාවනාව තිබුනෙ හත්වෙනි අංගය විදිහටනෙ.

**දේශක :** ඔව්, ඒ ගැන හත් වෙනි අංගයෙන් තමයි කතා කරන්නෙ. පළමුවෙන්ම දර්ශනයෙන් පහ කරන්න කියල බුදු රජාණන් වහන්සේ පෙන්වල දෙන අවස්ථාවෙදිම පැහැදිලි කරල තියෙනවා, ඒ ආශ්‍රව දර්ශනයෙන් පහ නොකර ඉන්න අයට මොකද වෙන්නෙ කියල.

**ශ්‍රාවක :** බුදු හාමුදුරුවො ඒ ගැනත් දේශනා කරල තියෙනවද? ඒ ගැන ඉස්සෙල්ලම කියල දීල ඉන්න. මගේ ගොඩක් යාළුවො ඔය වගේ විවිධාකාර භාවනා වැඩසටහන්වලට යනවා.

**දේශක :** අපි මෙතෙක් කල් සාකච්ඡා කරපු ආකාරයට, මේ ලෝකය අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් මෙනෙහි කරල, ඇලීම් ගැටීම්වලින් මිදෙන්න වෑයම් කරන්න, තමන්වම පොලඹවා ගන්න පුළුවන් වෙන ආකාරයට මේ ලෝකයේ සත්‍ය ස්වභාවය නොදැක්ක කෙනෙක්, ත්‍රිපිටකයේ සඳහන් වෙන ආකාරයට නම් අශ්‍රුතවත් පෘතජ්ජනයෙක්. තවත් විදිහකට කියනව නම්, කොච්චර ධර්මය ශ්‍රවණය කරල තිබුනත් දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රව පහ කරගෙන නැති කෙනෙක් ගැන සබ්බාසව සූත්‍රයේ විග්‍රහ කරල තියෙන්නෙ මේ විදිහට.

ඔහු මෙනෙහි කළ යුතු ධර්මය හා මෙනෙහි නොකළ යුතු ධර්මය නොදනී. මේ ධර්මයන් දෙකම නොදක්නා ඔහු, යම් ධර්මයක් මෙනෙහි කළ යුත්තේ නම් ඒ ධර්මය මෙනෙහි නොකරයි. යම් ධර්මයක් මෙනෙහි නොකළ යුත්තේ නම් ඒ ධර්මය මෙනෙහි කරයි.

**ශ්‍රාවක :** අයියෝ ඒ වගේ අය මහ විනාසයක්නෙ කරගන්නෙ. මෙච්චර පැහැදිලිව සූත්‍ර දේශනා තියෙද්දිත් මේ භාවනා පන්තිවලට යන අයට අන්තිමට මොනවායින් මොනවා වෙයිද දන්නෙ නෑ.

**දේශක :** ඒ වගේ අයට ලැබෙන ප්‍රතිඵලය ගැනත් උන්වහන්සේ ඉතා පැහැදිලිව දේශනා කරල තියෙනවා. ඒ වගේ දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රවයන් පහකර නොගෙන, ඒ කියන්නෙ මෙනෙහි කළ යුත්ත සහ නොකළ යුත්ත පිළිබඳව නියම අවබෝධයක් ලබා නොගෙන භාවනා කරන අයගෙ,



නූපන් කාමාශ්‍රව උපදිනවා
උපන් කාමාශ්‍රව වැඩෙනවා
නූපන් භවාශ්‍රව උපදිනවා
උපන් භවාශ්‍රව වැඩෙනවා
නූපන් අවිද්‍යාශ්‍රව උපදිනවා
උපන් අවිද්‍යාශ්‍රව වැඩෙනවා

**ශ්‍රාවක :** නොදන්න දේවල් නොදන කරන්න ගියාම සියලු ආශ්‍රවවලින් මිදීම කෙසේ වෙතත්, හිටියටත් වඩා වැඩියෙන් සසරට ඇලෙන බවක් තමයි පේන්නෙ. මේ භාවනා පන්තිවලට දිගින් දිගටම යන අයට වැටහෙන්නෙ නැත්ද මේ භාවනාවෙන් නිවන් දකින්න බැරි බව?

**දේශක :** දර්ශනයෙන් පහකළ යුතුව තියෙන ආශ්‍රව පහ කරගෙන තියෙන අය නම් ඒ භාවනාවලින් නිවන් දකින්න බැරි බව අනිවාර්යෙන්ම වටහා ගන්නවා. නමුත් ඒ භාවනාවලිනුත් විවිධ සමාධි ලැබෙනවා. ඒ වගේ විවිධ භාවනා ක්‍රම බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයෙත් තිබුනා. අපේ බෝසතාණන් වහන්සේත් මුල් කාලයෙදි ඒ වගේ භාවනා ක්‍රම ඉගෙන ගත්තා. හැබැයි ඒවායින් නිවන් ලබාගන්න බැරි නිසා තමයි උන්වහන්සේ ඒ සියලු ගුරුවරුන්ගෙන් අයින් වෙලා තනියම සත්‍යය සොයාගෙන ගියේ.

**ශ්‍රාවක :** ඔව් අපේ බෝසතාණන් වහන්සේ ගුරුවරුන්ගෙන් අෂ්ඨ සමාපත්ති ලබාගැනීම දක්වා ඉගෙන ගත්තනෙ. නමුත් උන්වහන්සේ ලොව්තුරා බුද්ධත්වය ලබාගත්තට පස්සෙ දේශනා කළේ මින් පෙර නොඇසූ දහමක්. එතකොට බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන් නිවන් දකින ක්‍රමවේදය ඒ කාලෙ හිටපු එකම සාස්තෲවරයෙක් ළඟවත් තියෙන්න විදිහක් නැනෙ. ඒ නිසාම ඔය එදා ඉඳන් අද දක්වාම තියෙන අනෙක් භාවනා ක්‍රම පස්සෙ යන එක කිසිම තේරුමක් නැති වැඩක්.

**දේශක :** ඔව් ඒක හරියට හරි. බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන් ක්‍රමවේදය ඉතා පැහැදිලිව ත්‍රිපිටකයේ අන්තර්ගත වෙලා තියෙනවා. සබ්බාසව සූත්‍රයෙත් දේශනා කරල තියෙන්නෙ ඒ වගේම නිවන් දකින්න කළ යුතු වැඩපිළිවෙලක්ම තමයි. පළමු පියවරෙන් කළ යුත්තේ දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රවයන් පහ කර ගැනීම.

**ශ්‍රාවක :** හැමෝම භාවනා කරන්න ඉස්සෙල්ල දර්ශනයෙන් පහකළ යුතු කොටස අනිවාර්යෙන්ම කළ යුතුද?

**දේශක :** මේ භයානක සසරෙන් මිදෙන්න උත්සාහ කරන පිරිස අනිවාර්යෙන්ම දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රව පහ කර ගත යුතුයි. හැබැයි වෙනත් අරමුණුවලට භාවනා කරන අයට ඒක අදාළ වෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** කොහොමද දර්ශනයෙන් පහ කරන ආශ්‍රව පහ කරන්න පටන් ගන්නෙ?

**දේශක :** ඒ සඳහා කල්‍යාණ මිත්‍ර ඇසුරක් ලබාගන්න ☞

වෙනවා. ඒ ආධාරයෙන් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න වෙනවා. ධර්ම ශ්‍රවණයෙන් අවබෝධ කරගත් ලෝක සත්‍යය පිළිබඳව යෝනිසෝ මනසිකාර කරල ධම්මානුධම්ම පටිපදාවට එන්න අවශ්‍යයි. මේ අංග 4 සම්පූර්ණ කරගත්තම තමයි අනෙකුත් ආශ්‍රව පහ කරන්න පටන් ගන්න තියෙන්නෙ. කල්‍යාණ මිත්‍ර සේවනයෙන් ලැබුන ශ්‍රී සද්ධර්මය ශ්‍රවණයෙන් ලබාගත් ප්‍රඥාවෙන්, මේ ලෝකයේ සත්‍ය ස්වභාවය දැක්ක අය තමයි මෙනෙහි කළ යුත්ත හා මෙනෙහි නොකළ යුත්ත හොඳින් අවබෝධ කරගෙන ඉන්නෙ.

**ශ්‍රාවක :** මට දැන් හොඳින් වැටහුනා, දර්ශනයෙන් පහ කිරීම තමයි අපි මුලින්ම කරන්න ඕන කියල. ඊළඟට මොනවද කරන්න තියෙන්නෙ?

**දේශක :** හොඳයි ඊළඟට පහ කරන්න තියෙන්නෙ සංවරයෙන් පහකළ යුතු ආශ්‍රව. මොකද අපි අනන්ත සංසාරෙ ඉඳන් මේ ඉන්ද්‍රියන් පාවිච්චි කරල තියෙන පුරුද්දට අනුව ඔය ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් හසුරුවන කොට ඒවාට ගෝචර වන ප්‍රියමනාප රූප, ශබ්ද, ගන්ධ... ආදියට අපිව ඇලෙනවා. ලෝකයේ අසාරත්වය දැක්ක පමණින් ඒවායින් මිදෙන්න බෑ. ඒ සඳහා අපේ ඉන්ද්‍රියන් සංවර කරගත යුතු වෙනවා. ඒ සඳහා මේ ඉන්ද්‍රියන්ට නිදහසේ වැඩ කරන්න ඉඩ දෙන්නෙ නැතිව යම් ආකාරයකට පාලනයක් කරන්න අවශ්‍යයි. ඒ සඳහා ඇලීමෙන් හෝ ගැටීමෙන් හෝ තමන්ටම මුහුණ දෙන්න සිද්ධ වෙන මහ විනාසය මෙනෙහි කළ යුතුයි. ඒ කියන්නෙ ආදීනව මෙනෙහි කළ යුතුයි.

**ශ්‍රාවක :** පාලනය කරනව කියන එක තව ටිකක් විස්තර කරල දෙන්න පුළුවන්ද? ඇසෙන් රූප දකින අවස්ථාවක් උදාහරණයක් හැටියට ගත්තොත්, රූප සම්පූර්ණයෙන්ම නොබල ඉන්නවද? එහෙම නැත්නම් සමහර රූප බලන්නෙ නැතිව ඉන්නවද? මොන ක්‍රමයකින්ද ඔය පාලනය කිරීම කරන්නෙ?

**දේශක :** සම්පූර්ණයෙන්ම රූප නොබල ඉන්න ක්‍රමයක් බුදු රජාණන් වහන්සේ දේශනා කරල නෑ. එතනදි යම් රූපයක් බැලීම නිසා තමන්ට වෙහෙස ගෙන දෙන ආශ්‍රවයක් උපදිනව නම් ඒ වගේ රූප නොබල සිටීමෙන්, ඒ වගේම ඒවායේ අසාරත්වය මෙනෙහි කිරීමෙන් ඔබට ඒ ආශ්‍රවයෙන් මිදෙන්න පුළුවන් වෙනවා. ඒ විදිහට ආශ්‍රවවලින් මිදුනම ඒක අනිවාර්යෙන්ම ඒ පුද්ගලයට මේ ආර්ය මග වඩන්න උදව් වෙනවා. එහෙම නැත්නම් කලින් වගේම රූප පස්සෙ හඹාගෙන ගියොත්, නූපන් ආශ්‍රවත් ඉපදිලා තමන්ගෙ මග වැඩීමට විසාල බාධාවක් ඇති වෙනවා. මේ ඉන්ද්‍රියන් හරහා එන අරමුණුවලින් තමන්ට වඩාත් වෙහෙස කර වෙන්නෙ, වඩා පීඩාකාරී වෙන්නෙ මොන මොන අරමුණුවලින්ද කියල වටහා ගන්න තරම් නුවණක් මේ මග වඩන ආර්ය ශ්‍රාවකයාට තිබිය යුතුයි. මේ ආකාරයට ඉන්ද්‍රියන් හරහා අරමුණු ඇති වෙලා නැගෙන ආශ්‍රව පහ කරගන්න පුළුවන් වෙන්නෙ, පෙන්වා දීල තියෙන ක්‍රමයට ඉන්ද්‍රිය සංවර කර ගැනීමෙන් පමණක් බව මේ සූත්‍රයෙන් විස්තර කරල දීල තියෙනවා.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මේ ඉන්ද්‍රිය සංවර කරගන්න එක මේ මාර්ගයේ ඉදිරියට යන හැමෝම අනිවාර්යෙන් කළ යුතුයි කියන එකනෙ.

**දේශක :** ඔව් ඒක තමයි. හැබැයි මේ ලෝකෙ අසාරත්වය දැක්ක කෙනෙක් හොඳින් දන්නවා, ඔය රූපවල මුකුත් ගත යුතු හරයක් නැති බව. ඒ නිසා අනවශ්‍ය රූප, ශබ්ද, ගන්ධ... ආදියෙන් බේරෙන එක ඒ හැටි අමාරු දෙයක් වෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** සියලු ආශ්‍රව දුරු කරගන්න මේ කරන උත්සාහයෙදි ඊළඟ අංගය විදිහට බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මොනව ගැනද?

**දේශක :** ප්‍රත්‍යවේක්ෂාවෙන් පහකළ යුතු ආශ්‍රව ගැන. මෙතනදි කතා කරල තියෙන්නෙ මිනිස්සුන්ට ජීවත් වෙන්න අත්‍යවශ්‍ය අංග 4 ක් ගැන. ආහාර, නිවාස, ඇඳුම්, බෙහෙත් මේ ලෝකයේ ජීවත් වෙන හැම මනුස්සයෙකුටම අත්‍යවශ්‍යයි. ඒවා පරිහරණය නොකර ඉන්න ක්‍රමයක් නෑ. ඒ නිසා මේ අවශ්‍යතාවයන් හතරම පරිහරණය කරන අවස්ථාවෙදි ඇලීමක් ගැටීමක් ඇති නොවී පරිහරණය කරල, එහෙම ඇලුනොත් ගැටුනොත් ගොඩ නැගෙන්න පුළුවන් ආශ්‍රවයන්ගෙන් බේරෙන්න තමයි මේ ප්‍රත්‍යවේක්ෂාව හඳුන්වා දීල තියෙන්නෙ.

**ශ්‍රාවක :** අපේ ගෞරවනීය ස්වාමීන් වහන්සේලා දානය වළඳන්න පෙර ප්‍රත්‍යවේක්ෂා වාක්‍ය කියනව මම අහල තියෙනවා. නිවසක් පරිහරණය කරත්දිත්, යම් බෙහෙත් ආදිය අවශ්‍ය වන වෙලාවල්වලදිත් ප්‍රත්‍යවේක්ෂා වාක්‍ය කියන්න ඕනද?

**දේශක :** ඔව් එහෙම කියනව නම් තමයි වැඩිය හොඳ. මේ වැඩපිළිවෙලේ ඉන්නෙ නිවන් දකින්න යන ආර්ය ශ්‍රාවක පිරිසක්නෙ. ඔවුන් දන්නවා, මේ හතර පරිහරණයෙදි ආශ්‍රවයක් හට ගත්තොත්, ඒ නිසා තමන්ට වෙහෙසකර පීඩාකාරී තත්ත්වයකට මුහුණ දෙන්න සිද්ධ වෙන බව. ඒ නිසාමයි කල් ඇතිව නුවණින් විමසල බලල මේ ආහාර, නිවාස, බෙහෙත්... ආදිය පරිහරණය කරත්දි තමන් මේ දේවල් පරිහරණය කරන්නෙ, නිවන් මාර්ගය පූර්ණ කරගැනීමට අවශ්‍ය වන ආකාරයට මේ කය පවත්වාගෙන යා යුතු නිසා පමණක් බව නිතරම සිහි කරන්නෙ.

**ශ්‍රාවක :** හැබැයි මේ ලෝකෙ ඉන්න අයට නම් ඔය අවශ්‍යතා හතරටම කය පවත්වනවට වඩා වෙනත් අරමුණු තියෙනවා. ඒ කියන්නෙ පංච කාම බුක්තිය තමයි ඔවුන් බලාපොරොත්තු වෙන්නෙ. ඒ නිසා ආහාර ගන්නෙ රස විඳින්න. ඇඳුම් අඳින්නෙ ලස්සන වෙන්න. නිවසක් වුනත් අනිත් අයට පේන්න ලස්සනට තියාගන්න උත්සාහ කරන්නෙ. එතකොට බෙහෙත් ගන්නෙ නිරෝගී වෙන්න විතරක් නෙවෙයි, හැඩ වැඩ වෙන්නත් බෙහෙත් ගන්නවනෙ.

**දේශක :** ඒක තමයි ලෝකෙ ක්‍රමය. හැබැයි අමතක කරන්න එපා, ඔය ආර්ය ශ්‍රාවකයොත් මේ ලෝකෙ හිටපු පිරිසක්ම බව. ඒ නිසාම තමයි නිතර නිතර නුවණින් විමසල සිහියෙන් ඉඳල ඒවා පරිහරණයෙදි ප්‍රත්‍යවේක්ෂා කරල ආශ්‍රවයන්ගෙන් මිදෙන්න උත්සාහ ගත යුත්තෙ. මේ ආශ්‍රවයන්ගෙන් බේරෙන්න නම් මේ ක්‍රමය අනුගමනය කළ යුතුමයි කියල තමයි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

**ශ්‍රාවක :** ඊළඟට කතා කරන්න තියෙන්නෙ අධිවාසනායෙන් පහකිරීම ගැන. මේ ක්‍රමවේදය බුදු රජාණන් වහන්සේ විස්තර කරල තියෙන්නෙ කොහොමද?

**දේශක :** අධිවාසනායෙන් කියන්නෙ ඉවසනව කියන එක. මේ ක්‍රමයෙදි ඉවසල තමයි ඒ ආකාරයේ ආශ්‍රව පහකරගන්නෙ. මෙතනදි මුලින්ම ඉවසන්න ඕන වෙන්නෙ, ඉවසනව ඇරෙන්න වෙන කරන්න දෙයක් නැති දේවල් සම්බන්ධයෙන් තමයි.

**ශ්‍රාවක :** එහෙම ඉවසනව ඇරෙන්න, වෙන කරන්න දෙයක් ඇත්තෙම නැත්නම් ඉතින් කොහොමත් ඉවසන්න වෙනවනෙ.

**දේශක :** ඒක ඇත්ත තමයි. හැබැයි ඔබට හමුවෙලා ඇති, වහිනකොට තරහින් බනින අය, අව්ව සැරට තරහ ගිහින් බනින අය. ඔය තරහ අරන් බැන්න කියල අව්ව හරි, වැස්ස හරි වෙනස් කරන්න පුළුවන්ද?

**ශ්‍රාවක :** අනේ ඕන තරම් ඉන්නවා, කිසිම තේරුමක් නැතිව තමයි ඒ අය එහෙම කරන්නෙ. එහෙම කරන අය දිගින් දිගටම ඒ විදිහට හැසිරෙනවා.

**දේශක :** ඒකත් ඉතින් නොදන්නකම නිසාම කරගන්න දෙයක්. කොහොම වුනත් තමන්ගෙ හිත ද්වේශ සහගත තත්ත්වයකට පත් කරගන්න එකෙන් තමන්ටම විනාසයක් තමයි වෙන්නෙ. අව්ව, වැස්ස, සීතල, උණුසුම වගේ ස්වභාවික දේවල් වුනත්, ගංවතුර, සුළි සුලං, සුනාමි වුනත් ඒවා සම්බන්ධයෙන් ඉවසීමෙන් කටයුතු කරල තමන්ගෙ ආරක්ෂාව තහවුරු කරගන්නව ඇරෙන්න, දෙවි දේවතාවුන්ට හෝ දේශපාලනය කරන අයට හෝ දොස් නැගීමෙන් කිසිම වැඩක් වෙන්නෙ නෑ.

**ශ්‍රාවක :** ඔව් හැම දේකටම පසුගිය ආණ්ඩුවට හරි පවතින ආණ්ඩුවට හරි බනින්න පුරුදු වෙච්ච අයත් ඉන්නවා. ඒ අයත් කරගන්නෙ විනාසයක්ද?

**දේශක :** ලෝක සම්මත විදිහට කල්පනා කළොත් නම්, ආණ්ඩු විවේචනය කරන්න අපට අයිතියක් තියෙනව කියල කවුරුත් කියයි. නමුත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ, මා හෝ මා වැන්නෙකුට හැර අන් කිසිම පුද්ගලයෙකුට තවත් අයෙක් විවේචනය කරන්න බෑ කියල. මොකද ඒ ඒ සිද්ධියට අදාළ අනෙකුත් වැදගත් සියලුම හේතු දකින්න පුළුවන්කමක් ලොව්තුරා බුදුවරුන්ට හැර වෙනත් කිසිම කෙනෙකුට නැති නිසා. ඒ විතරක් නෙවෙයි, මැසි මදුරු කරදර, ශාරීරික වේදනා සහ අනෙක් අයගෙන් අහන්න සිද්ධ වෙන නපුරු වචන ඉවසන්න පුරුදු වෙන්න ඕන. ඒ වගේ අවස්ථාවලදි ඉවසන්න බැරි වුනොත් වෙන්නෙ ද්වේශ සහගත වෙලා ආශ්‍රවයන් ගොඩනැගෙන එක. මේ ආකාරයට බාහිරින් එන කරදර සියල්ල ඉවසන්න පුළුවන් වෙනව කියන්නෙ, ඒ ඒ අවස්ථාවන්වලදි තමන්ව ද්වේශ සහගත තත්ත්වයෙන් මුදව ගත්ත කියන එක. ඒක තමයි මේ ආර්ය මාර්ගය වඩන අය කවුරුත් කළ යුත්තෙ. මේ විදිහට ඉවසන්න පුරුදු වෙනව ඇරෙන්න වෙන ක්‍රමයක් නෑ කියල තමයි බුදු රජාණන් වහන්සේ සබ්බාසව සූත්‍රයෙන් ඉතා පැහැදිලිව පෙන්වා දීල තියෙන්නෙ.



**ශ්‍රාවක :** වාහනවල යනකොට ඉවසන්න පුරුදු වෙන්න කියල වෙනම දේශනාවක් කරල නොතිබුනත්, නපුරු වචන ඇහුනත් ඉවසන්න කියල තියෙනවනෙ. වාහන පදවන හුඟක් අය, වෙනත් වාහනයකින් සුළු හෝ අතපසුවීමක් වෙච්ච ගමන් මහා ද්වේශයකින් බනිනවා. කිසිම තේරුමක් නැතිව මහා ද්වේශයකින් තමුන්වම දවා ගන්නවා. සමහරවිට අනිත් කෙනා ගිහිල්ලත් ඉවරයි. ඒ මනුස්සයට ඇහෙන්නෙත් නෑ. නමුත් තමන් ද්වේශය අත හරින්නෙත් නෑ. බැන බැන ගිහින් අපරාදෙ තමන්වම අපායට අරන් යනවා.

**දේශක :** ඊළඟට විස්තර කරල දීල තියෙන්නෙ පරිවර්ජනයෙන් පහ කළ යුතු ආශ්‍රව ගැන. අපිට හොඳටම තේරෙන භාෂාවෙන් කියනව නම්, වර්ජනය කරනවා කියන එකම තමයි. එතනදි අදහස් කරන්නෙ වෙනත් අරමුණක් හේතුවෙන් තමන් කළ යුතු වැඩක් නොකර ඉන්නව කියන එක.

**ශ්‍රාවක :** විවිධ ආයතනවල වර්ජන තියෙනවනෙ. එතනදි වෙන්නෙ තමන්ට ඉල්ලීමක් දිනාගන්න අරමුණු කරගෙන තමන් එදාට කළ යුතුව තියෙන වැඩ කොටස නොකර ඉන්න එකනෙ.

**ශ්‍රාවක :** ඔව් එහෙමම තමයි මෙතනදිත් කරන්න තියෙන්නෙ. නිවන් දකින්න තියෙන අරමුණු, එහෙමත් නැත්නම් තමන් ඇලෙන ගැටෙන එක වලක්ව ගන්න තියෙන අරමුණු නිසා, කිසියම් ආකාරයකින් ඇලීමකට හෝ ගැටීමකට හෝ හේතු තියෙන තැන්වලට තමන්ට යම් හේතුවක් නිසා යා යුතුව තිබුනත් ඒ වගේ ස්ථානයන්ට යාමෙන් වැළකී සිටිය යුතුයි. එහෙම සම්බන්ධ නොවී වැළකිලා හිටියොත් තමන්ට ඇතිවෙන්න තිබිච්ච ආශ්‍රවවලින් මිදෙන්න පුළුවන් වෙනවා.

එතනදි තමන්ට යම් ආකාරයකට අනතුරක් විය හැකි ස්ථානයකට නොගොස් සිටීම, අනතුරුදායක පුද්ගලයන් හා පාප මිත්‍රයන් ඇති තැන්වලට නොගොස් සිටීම, ඒ වගේම යම් ස්ථානයකට ගියොත් එතනදි තමන්ට හානි වෙන වෙහෙසකර ආශ්‍රවයන් ගොඩනැගෙයි කියල හිතෙනව නම්, ඒ වගේ ස්ථානවලට සම්බන්ධ නොවී සිටීම තමයි කරන්න තියෙන්නෙ.

**ශ්‍රාවක :** මෙතනදි උන්වහන්සේ දේශනා කරල තියෙන්නෙ, තමන් අමාරුවෙ වැටෙන්න පුළුවන් තැන්වලට නොගිහින් ඉඳල ආරක්ෂා වෙන්න කියන එකනෙ.

**දේශක :** ඔව්. ආර්ය ශ්‍රාවකයෙක් වුනාම එහෙම කරන්න කියල තමයි උන්වහන්සේ දේශනා කරල තියෙන්නෙ. මේ විදිහට පහකළ යුතු ආශ්‍රවයන් පහකරන්න වෙන්නෙ, වර්ජනය කිරීමෙන් විතරමයි කියල මේ ආශ්‍රව පහ කිරීම් ක්‍රමයෙදිත් උන්වහන්සේ විස්තර වශයෙන් පෙන්වා දීල තියෙනවා.

**ශ්‍රාවක :** මේ ක්‍රමය නම් අපි කාටත් ගොඩක් වටිනවා. අපි හුඟක් වෙලාවට අමාරුවෙ වැටෙන්නෙ ඔය අනවශ්‍ය වැඩවලට ☞

සම්බන්ධ වෙන්න ගිහිල්ල තමයි. හැබැයි මෙතනදි කල් තියාම අනතුර අඳුනගන්න සිහි බුද්ධියෙන් කටයුතු කරන්නත් සිද්ධ වෙනවා. ඒ වගේම කලබල නොවී ඉන්නත් සිද්ධ වෙනවා. ඊළඟ ආශ්‍රවය පහකරන්න විස්තර කරන්නෙ මොන ක්‍රමයටද?

**දේශක :** විනෝදනයෙන් පහකළ යුතු ආශ්‍රව. මෙතනදි පෙන්වල දෙන්නෙ සාමාන්‍ය මිනිස්සු ලේසියෙන් අත්හරින්නෙ නැති කාම විතර්ක, විහිංසා විතර්ක, ව්‍යාපාද විතර්ක... ආදිය ගැන. කවුරුහරි කාම සංකල්පනාවක් ගැන හිත හිතා ඉන්නව නම්, එහෙමත් නැත්නම් කාටහරි යම් කරදරයක් කරන එකක් ගැන හිත හිතා ඉන්නව නම්, ඒ පුද්ගලයට ලේසියෙන් ගැලවෙන්න බෑ. ආස්වාදයක් ලබන්න හෝ පළි ගැනීමේ චේතනාවකින් හෝ දිගින් දිගටම ඒ සංකල්පනාව තුළම කාලය ගත කරන එක තමයි ලෝකයාගේ පුරුද්ද. නමුත් මේ මාර්ගයේ ඉදිරියටම යන ශ්‍රාවකයා, මේ සංකල්පනා නිසා තමන්ට මුහුණ දෙන්න වෙන අනතුර ගැන සිහි කරල, හැකි ඉක්මණින් ඒ වගේ සංකල්පනාවලින් මිදෙනවා. කාම, ව්‍යාපාද, විහිංසා... ආදී සංකල්පනාවල ආදීනව දැකල වහාම ඒවා හිතේ තියාගන්නෙ නැතිව අයින් කරගන්න එක තමයි විනෝදනයෙන් පහකරනව කියල කියන්නෙ.

**ශ්‍රාවක :** ඒ වගේ කල්පනාවක් ආවම හරිම කරදරයි තමයි. කෙළවරක් නැතිව ඒවා සිතට වද දෙනවා. ඉක්මනට අයින් කරගන්න පුළුවන් නම් හොඳයි. නමුත් ලේසියෙන් එහෙම වෙන්නෙ නැනෙ.

**දේශක :** ඔව් ඒ නිසා තමයි ඒ වගේ ආදීනව මෙනෙහි කළ යුත්තෙ. මේ වගේ කල්පනාවලින් තමන්ගෙ ආර්ය මාර්ගයේ ඉදිරි ගමනට කොච්චර බාධා වෙනවද කියන එක තේරුම් ගත්තොත් ඉක්මනින්ම මිදෙන්න පුළුවන් වේවි. ඒ සඳහා ඒ වගේ දේවල් හිතේ තියා ගන්නෙ නැතිව ඉන්න, ඒවායේ අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය හොඳට පුරුදු පුහුණු කරන්න වෙනවා. එහෙම වුනාට පස්සෙ කාම, ව්‍යාපාද, විහිංසා වගේ අදහස්වලින් තමන්ට සිද්ධ වෙන කරදර ක්‍රමානුකූලව අඩු කරගන්න පුළුවන් වෙනවා.

**ශ්‍රාවක :** දැන් අපි දර්ශනයෙන් පහකළ යුතු ආශ්‍රව පහ කරගෙන මේ ලෝකයේ අසාරත්වය වටහගෙන මේකෙන් මිදෙන්න ඕන කියල තීරණය ගත්තට පස්සෙ, නිවන් දකින වැඩපිළිවෙලට තමන්ව හොඳින් හැඩගස්සවා ගන්න අනිවාර්යෙන්ම අනුගමනය කළ යුතු ඉතාමත් වැදගත් කරුණු 5 ක්ම සාකච්ඡා කළා. ඉන්ද්‍රිය සංවර කර ගැනීම, ප්‍රත්‍යවේක්ෂා කිරීම, ඉවසීම, වර්ජනය කිරීම, කාම, ව්‍යාපාද, විහිංසා ආදී සංකල්පනා හිතේ තියාගෙන ඉන්නෙ නැතිව අයින් කිරීම. අපි මේ ලෝකයේ කටයුතු කරමින් ඉන්නකොට ඒ ඒ අවස්ථානුකූලව මේ ක්‍රම 5 න් එකක් පාවිච්චි කරල, හොඳ සිහි කල්පනාවෙන් කටයුතු කරල තමන්ව බේරෙන්න ඕන නේද?

**දේශක :** හරියටම හරි. ඔබ ඉතාම හොඳින් මේ ධර්මය වටහගෙන තියෙනවා. ඔය ආකාරයට කටයුතු කරන ආර්ය ශ්‍රාවකයා තමයි භාවනාවෙන් පහකළ යුතු ආශ්‍රව පහ කරන්න භාවනා කරන්න පටන් ගන්න අවශ්‍ය වෙන්නෙ. ඒ බව සබ්බාසව සූත්‍රයේ සඳහන් වෙන්නෙ මේ ආකාරයට.

ආර්ය ශ්‍රාවකයා නුවණින් සලකල විවේකය ඇසුරු කළ විරාගය ඇසුරු කළ නිරෝධය ඇසුරු කළ නිවනට නැඹුරුව, සති සම්බොජ්ජංගය වඩයි.
ධම්ම විචය සම්බොජ්ජංගය වඩයි.
විරිය සම්බොජ්ජංගය වඩයි.
පස්සද්දි සම්බොජ්ජංගය වඩයි.
ප්‍රීති සම්බොජ්ජංගය වඩයි.
සමාධි සම්බොජ්ජංගය වඩයි.
උපේක්ෂා සම්බොජ්ජංගය වඩයි.

යම් ආර්ය ශ්‍රාවකයෙකුට විවේකය ඇසුරු කළ, විරාගය ඇසුරු කළ, නිරෝධය ඇසුරු කළ, නිවනට නැඹුරු කළ සප්ත බොජ්ජංග වැඩීමෙන් තමයි භාවනාවෙන් පහකළ යුතු ආශ්‍රව පහ කරන්න පුළුවන් වෙන්නෙ.

**ශ්‍රාවක :** අපි භාවනා කළ යුත්තෙ මේ බොජ්ජංග ධර්ම 7 වැඩෙන විදිහට. අද සාකච්ඡාවෙන් මේක දැන ගන්න කල්ම මම මේ වගේ භාවනා ක්‍රමයක් ගැන නම් අහලවත් තිබුනෙ නෑ. මේ ආකාරයට සප්ත බොජ්ජංග වැඩෙන්න නම් කළ යුතු භාවනා මොනවද කියන ප්‍රශ්නය තමයි මට දැන් තියෙන්නෙ.

**දේශක :** ඒක නම් බොහොම වැදගත් ප්‍රශ්නයක්. ඒ ගැන නම් ගොඩක් විස්තර සහිතව කතා කළ යුතුයි. දැනටමත් අපි ඉතා වැදගත් කරුණු රාශියක් සාකච්ඡා කරල තියෙනවා. ඉදිරි දවසකදි විවේකය ඇසුරු කළ, විරාගය ඇසුරු කළ, නිරෝධය ඇසුරු කළ නිවනට නැඹුරුව සප්ත බොජ්ජංග වැඩෙන භාවනාව ගැන කතා කරමු.

**ශ්‍රාවක :** ඔව් ඒක හොඳයි. ඒ කාලය වෙනකල් මට පුළුවන් ආශ්‍රවයන් පහ කරන්න කියල දීපු අනිත් ක්‍රමවේදයන් 5 ත් අනුගමනය කරල ආශ්‍රවයන් පහ කරන්න පුරුදු වෙන්න.


සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**


# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි **මහනුවර, මාතලේ, රත්නපුර, දිගාමඬුල්ල, ත්‍රිකුණාමලය සහ වව්නියාව** යන දිස්ත්‍රික්කවල පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි ඉහත කී දිස්ත්‍රික්කවල ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව..... 6




මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ ජ්‍යොතිෂ විද්‍යාව ගැන සැඟවුණු දහම් පැතිකඩක් පෙන්වා දෙන්න. මේ ජ්‍යොතිෂ විද්‍යාව කියන්නෙත් විද්‍යාවක්. විද්‍යාවට සිංහලෙන් කියන්නෙ විදු කියල. ඒ කියන්නෙ යමක් විද + දර්ශනය කිරීම හෙවත් ගැඹුරට කාවැදිල සොයා බැලීම.

ජ්‍යොතිෂ කියන්නෙ යම් ආකාරයකට ජනිත වෙලා ආශ්‍රය කරනවා කියන එක. ජෝති කියල ආලෝකයටත් කියනවා. ඒ අනුව ආලෝකය ඇසුරු කරගෙන කියලත් අර්ථ ගන්න පුළුවන්. ආලෝකය කියන්නෙ කිරණ. කිරණ කියන්නෙ ශක්තිය. ඉතිං කිරණ ශක්තිය ඇසුරු කරගෙන ලෝක සත්වයන්ගෙ හිත සුව පිණිස බිහි වෙච්ච සෘෂි භාෂිතයක් තමයි මේ ජ්‍යොතිෂ විද්‍යාව කියන්නෙ. තවත් විදිහකට අදහස බැලුවොත් ආපු ලෝකය තමයි ආලෝකය කියන්නෙ. ඒ වගේම ආ + දුර තමයි අඳුර කියන්නෙ. ඒ කියන්නෙ පෙර අත්බැව්වලදි අපි කොතනද හිටියෙ, මොන වගේ වැඩද කළේ ආදිය. ඉතිං අපි දන්නවා මේ ලෝකෙ පවතින්නෙ හේතු ඵල දහමට අනුව බව. ඒ කියන්නෙ හේතු ජනිත කිරීමෙන් ඵල උදාවීම සහ ඒ ජනිත කරන හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වන ගැඹුරු සිද්ධාන්තයක්. මේ කාරණය හෙළ බොදු පියුම සඟරාව තුල මීට පෙර විග්‍රහ කරල තියෙන නිසා මෙතැනදි ඒ ගැන සඳහන් කරන්න යන්නෙ නෑ.

ඒ වගේම ජ්‍යොතිෂ විද්‍යාව හෙවත් නක්ෂත්‍ර විද්‍යාවේ සැඟවුනු දහම් පැතිකඩ ගැන විද්‍යානුකූල විග්‍රහයක් මේ සඟරාවේ 41 - 50 දක්වා කලාප 10 කින් ඉදිරිපත් කරල තියෙන නිසා නැවතත් ඒ ගැන වැඩිදුර සඳහන් කිරීම අවශ්‍ය නෑ. නමුත් අත්‍යවශ්‍ය කරුණක් පැහැදිලි කරගන්න ඒ ගැන සඳහන් කරනවා.

එතකොට ලෝකයේ හටගත්ත කිසිම දෙයක් නිකං හටගන්නෙ නෑ, අහඹුවකින් හටගන්නෙ නෑ. ලෝකයේ සියල්ල හේතුඵලයි, පටිච්ච සමුප්පන්නයි, සංඛතයි. නවීන විද්‍යාවෙන් වුනත් හේතුවක් නැතිව යමක් පිළිගන්නෙ නෑ. නමුත් මේ ලෝකයේ තියෙන හැම එකකටම හේතු හොයන්න තරම් නවීන විද්‍යාව දියුණු නෑ. කවදාවත් එහෙම අවස්ථාවක් එන්නෙත් නෑ. මොකද ඒ බොහොමයක් ඒවා විද්‍යා උපකරණවලට අහුවෙන්නෙ නෑ. විද්‍යාඥයින්ගෙ පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන්නෙත් නෑ. ඒ නිසා යම් කිසි අධ්‍යාත්මික ශක්තියක් ලබා ගත්තු, මනස දියුණු කරපු උත්තමයින්ට තමයි ඒ වගේ ගැඹුරු දේවල් ගෝචර වෙන්නෙ. ඒ කාරණය මේ වෙනකොට නවීන විද්‍යාවෙනුත් එක්තරා ආකාරයකට පිළිගන්න මට්ටමට ඇවිත් තියෙනවා.

ඉතිං සත්ත්වයින් පෙර අත්බැව්වල ග්‍රහණය කර ගෙන හිටපු දේවල් ඵල දෙන්න හැදිච්ච වස්තු තමයි ග්‍රහ වස්තු කියන්නෙ. ඒ ග්‍රහ වස්තු මුල් වෙලා තමයි විපාක දෙන්නෙ. එතකොට කෙනෙක් උපන් වෙලාවෙ යම් ග්‍රහ චාරයක් පිහිටල තිබුණ නම් ඒ ග්‍රහ චාරයෙන් පෙන්වන ගති ලක්ෂණය තුළ තමයි ඒ පුද්ගලය ලැගල තියෙන්නෙ. ඒ ගති ලක්ෂණ තුළින් මොන වගේ දේවල්ද ග්‍රහණය කරල තිබුණෙ, ඊට අනුව අදාළ ග්‍රහයින් පිහිටනවා. එතකොට කෙනෙක් යමක් ග්‍රහණය කරගෙන යම් ගති ලක්ෂණයකින් ලැගල හිටිය නම්, ඒ ගති ලක්ෂණයට අදාල ස්වභාවය ලග්නය සහ ග්‍රහයින් තුළින් පෙන්නුම් කරනවා. ඒ නිසා මේ ලග්නයට යම් කිසි නමක් දාල තියෙන්නෙත් ග්‍රහ තාරකාවල තියෙන හැඩ තලයක් අනුව. ඒ කාරණය මේ විදිහට විග්‍රහ කරන්න පුළුවන්. ග්‍රහණය කළේ යම් සේ ද ඒ විදිහට අපිට ඒ ග්‍රහණය කර ගන්න එකට ණය ගෙවන්න වෙනවා. එහෙම නැත්නම් ග්‍රහ + ණය වෙනවා.

දස දහසක් සක්වල සහ අපි ඉන්න මේ මඟුල් සක්වල අතර යම් කිසි වෙනසක් තියෙනවා. අපි ඉන්න මේ සක්වලේ ඉඳගෙන බලන කොට තමයි ඔය දස දහසක් සක්වල ග්‍රහ මණ්ඩල ආදිය අහසෙ පේන්නෙ. නමුත් ඊට හුඟක් ඈතින් තියෙන තවත් සක්වල පොදි පිහිටල තියෙන ක්‍රම රටාව අපිට පේන්නෙ නෑ. මේ දස දහසක් සක්වල ග්‍රහයින්ගෙන් එන කිරණ, දස දහසක් සක්වලටම අන්‍යොන්‍ය වශයෙන් විහිදිලා පැතිරෙනවා. අපි ඉන්න මේ මනුස්ස ලෝකෙට ඒ කිරණ එන්න යම් කිසි කාලයක් ගත වෙනවා. ඒ කිරණ ඇවිත් ආකාසෙ තියෙන වායුගෝලයට වදිනකොට වායුගෝලය ආලෝක වෙනවා. ඒ වදිනකොට ඇති වෙන

ආලෝක පුල්ලි තමයි මේ ග්‍රහ මණ්ඩල කියන්නෙ. ඒ කියන්නෙ ආලෝක වෙච්ච ස්ථාන. ඒව තමයි රෑට අහසෙ තරු විදිහට පේන්නෙ. මේ ග්‍රහ මණ්ඩලවල තමයි ග්‍රහ දේවතාවො ඉන්නෙ. ග්‍රහ දේවතාවන්ගෙ විමාන පිහිටන්නෙ ඒ ආලෝක පුල්ලිවල. මේ ග්‍රහයින්ගෙ ගති ලක්ෂණ තියෙන දේවතාවො එතන ඉන්නවා. එතකොට ග්‍රහය කියන්නෙ දෙවියෙක් නෙවෙයි. ග්‍රහ මණ්ඩලවල තමයි ආකාස දේවතාවන්ගෙ දිව්‍ය විමන් තියෙන්නෙ. මේවා පෘථිවියේ සිට බලද්දි හැතැප්ම 10 කට වඩා ඈතින් නෙවෙයි පිහිටන්නෙ. ඒ කියන්නෙ ඕසෝන් කියන ඝනීභවන ස්ථරය තියෙන ස්ථානයේ. එතකොට මේ කියන ග්‍රහ මණ්ඩල යම් කිසි හැඩ තලයකට සකස් වෙලා පේන්නෙ. ඒ කියන්නෙ අර කිරණ ඇවිත් වැදිල පිහිටන ආකාරය. යම් කිසි ගති ගුණයකට අනුරූප ගති රුවකින් තමයි ඒවා පිහිටන්නෙ. පෘථිවියේ ඉඳන් අහස දිහා බලන කොට පේන්නෙ ඒ පිහිටපු රටාව. අන්න ඒ පිහිටි හැඩතල රටා 12 ක් තමයි මේ ලග්න හෙවත් රාශි කියල කියන්නෙ. ඒ කිරණ කොහොම ආවත් මේ ලෝකෙ යම් කිසි ක්‍රමයකට කටයුතු කරන ආකාරය අනුව තමයි හැඩතල සකස් වෙන්නෙ. මොකද මිනිස්සු ග්‍රහණය කරගත්තු ඒව අනුව තමයි ග්‍රහ වස්තු හැදිල තියෙන්නෙ.

උදාහරණ විදිහට අපි යමකට ආලෝකයක් ඇල්ලුවොත් ඒ ආලෝකයට අනුව නෙවෙයි ඒක අපිට පේන්නෙ, ඒ වස්තුව පිහිටපු හැඩතලය අනුව. එතැන යම් කිසි හැඩතලයක් තියේ නම් ආලෝකය ආධාර කරගෙන ඒ හැඩතලය අපිට පෙන්නුම් කරනවා. ඒ වගේ මෙතනත් ඕසෝන් ස්ථරය කිව්වම, ඒක හැදිල තියෙන්නෙත් සත්ත්වයින්ගෙ කර්ම විපාකයෙන්. ඒ හැදිල තියෙන්නෙත් යම් කිසි හැඩතලයකට අනුව. හැබැයි ඒ හැඩතලය හැදෙන්නෙ භෞතික ඝනීභවන පඨවි ධාතුවෙන් නෙවෙයි. අර එන කිරණ, වායු ධාතුවත් එක්ක සම්බන්ධ වෙලා එක්තරා සියුම් හැඩයකට පිහිටනවා. නමුත් ඒ හැඩය අපිට ලේසියෙන් හොයන්න බෑ. හැබැයි ඕසෝන් ස්ථරයේ සමහර තැන් තුනියි, සමහර තැන් ඝනකමයි. ඒ කියන්නෙ තැනින් තැන වළ ගොඩැලි සහිතයි. ඕසෝන් කියන්නෙ ඝනීභවන වායුවක්. වායුමය ලෝකයක්. ඒක තමයි ආකාස දේවතාවන්ගෙ බිම. ඒ බිම හැදිල තියෙන්නෙත් ඒ අයගෙ ස්වභාවයට අනුව. ඒ නිසා ඕසෝන් ස්ථරයේ හැම තැනම සමාන ගති ස්වභාවයක් නෑ. තැනින් තැන විවිධාකාරයි. සමහර තැන් රස්නෙයි, සමහර තැන් සීතලයි. ඝනීභවන තැන්වල රස්නෙ වැඩියි, තුනී තැන්වල සීතල වැඩියි. මේ වගේ විවිධාකාර තැන් පිහිටනවා. ඒ පිහිටපු ආකාරයට තමයි අර කිරණ ඇවිත් ග්‍රහ මණ්ඩලයක් විදිහට පිහිටල පේන්නෙ. ඒ කිරණවලට අනුකූලයි ගති ලක්ෂණ.

ජ්‍යෝතිෂය, ග්‍රහ තාරකා කියන්නෙ මනුස්සයා ඇතුළු ලෝකයට අයත් තියෙනවා. ඒ කරුණය මේ සඟරාවෙ 38 වන කලාපයේ පළවූ ''මරණින් පසු ගන්ධබ්බයෙකුගේ මුල් දින 7'' නම් ලිපියෙන් ඉදිරිපත් කරල තියෙනවා.

එතකොට පෙරදිග වගේම අපරදිග වුනත් ඉරිදා, සඳුදා, අඟහරුවාදා, බදාදා, බ්‍රහස්පතින්දා, සිකුරාදා, සෙනසුරාදා ආදී වශයෙන් සිංහලෙන් ගත්තත්, Sunday, Monday… විදිහට ඉංග්‍රීසියෙන් ගත්තත් ඒවායේ කියවෙන නම් ජ්‍යෝතිෂයේ එන ග්‍රහයන්ගෙ නම්වලට යම් සමානතාවයක් පෙන්නුම් කරනවා.

| ඉරිදා | රිවි දින | රවි | Sunday | Sun |
|---|---|---|---|---|
| සඳුදා | සඳු දින | සඳු | Monday | Moon |
| අඟහරුවදා | කුජ දින | කුජ | Tuesday | Mars |
| බදාදා | බුධ දින | බුධ | Wednesday | Mercury |
| බ්‍රහස්පතින්දා | ගුරු දින | ගුරු | Thursday | Jupiter |
| සිකුරාදා | කිවි දින | සිකුරු | Friday | Venus / Fri |
| සෙනසුරාදා | ශනි දින | ශනි | Saturday | Saturn |

සියල්ලේම පෙර තත්ත්වයන් සහ අනාගතය පෙන්වන විද්‍යාවක් නිසා, අවිද්‍යා තෘෂ්ණාවෙන් අල්ල ගැනීමෙන් ණයවෙච්ච ග්‍රහණය හෙවත් ග්‍රහයින්ගෙන් ඇතිවන බලපෑම ගැනත් සඳහන් කළොත් වටිනවා.

ලෝකයේ පවතින හැම දෙයකටම පොදු න්‍යායක් තියෙනවා. ඒ කියන්නෙ උත්පාද, ඨිති, භංග හෙවත් ඉපදීම, පැවතීම, විනාස වීම. නමුත් මේ කාරණය තීරණය කරන ප්‍රධාන භෞතික සාධකයක් තමයි ආලෝකය. මොකද ආලෝකය නැතිව පැවැත්ම දුෂ්කර වගේම කටුකයි. ගස්වැල් පවා ආලෝකය නැතිවීමෙන් මියයනවා. උදාහරණයක් විදිහට සූර්යාලෝකය නැතිව ගහකට හටගැනීමක් හෝ පැවතීමක් නෑ. ඒ වගේම අපටත් ඒ කාරණය පොදුයි. මොකද ආලෝකය හරහා ලබා ගන්නා දෙයින් තමයි අපි පැවැත්ම ගොඩනගා ගන්නෙ. ඒ විතරක් නෙවෙයි උදේ, දවල්, රෑය, දින, සති, මාස, අවුරුදු ආදී සියල්ල තීරණය කරන ප්‍රධාන භෞතික සාධකය විදිහට සූර්යා සළකනවා.

මෙතනදි තවත් විශේෂ දෙයක් සිද්ධ වෙනවා. දැන් සතියකට දින 7 ක් නැතුව 6 ක්, 8 ක් හෝ රවුම් ගානක් වෙන්න 10 ක් විතර ගත්ත නම් ලේසියිනෙ. නමුත් මෙතනදි දින 7 ක් හැදෙන ධර්මානුකූල ක්‍රම රටාවක්

තවත් විදිහකට ගත්තොත් පැය 12 ක් නැතුව 10 ක් ගන්න තිබුන නේ? නමුත් පැය 12 ක් ගත්තෙත් මේ රාශි දොළහට අදාළව. අනික මාස 12 ක් වුනත් ගන්නෙ මේ රාශි 12 අනුව. රාශි 12 කියන්නෙ පටිච්ච සමුප්පාදය.

එතකොට මේ සියලු තරු රටා එන්නෙ පටිච්ච සමුප්පන්නව දියත් කරපු වැඩ පිළිවෙල අනුව. ලෝකය සියල්ලන්ටම අයිති නිසා, සියල්ලන්ගෙම කර්ම වේගය නිසා, එක කොටසකට විතරක් මේ රාශි චක්‍රය නතර වෙලා තියෙන්න බෑ. ඒ නිසා මේ චක්‍රය පොදුවේ බෙදෙන්න ඕන. එහෙම බෙදිල ලෝකයේ හැම කෙනෙකුටම මේ චක්‍රය කැරකෙන්නත් ඕන. උදාහරණ විදිහට දහ දෙනෙක් එක්ක ගමනක් ගිහින් කෑමට යමක් අහු වුනා නම්, ඒක දහ දෙනාටම බෙදල සමව ගන්න ඕන. ඒ වගේ ක්‍රමයක් තමයි මෙතන තියෙන්නෙ. ලෝකය හදා ගත්තෙ කවුරුත් පොදුවෙ නම්, භුක්තිය කාටත් පොදු වෙන්න ඕන. ඒ සඳහා එක තැන තිබිල හරි යන්නෙ නෑ. ඒ නිසා රවුමට කරකව කව දෙන්න ඕන. ඒ හේතුවෙන් මේ ග්‍රහ රාශිවල කැරකීමක් හටගන්නවා. ඒ විදිහට කර කැවෙන්නෙ පොදුවේ සියලු සත්ත්වයින්ටම තම තමන් කරගත්තු හොඳ නරකට අදාල විපාක බෙදෙන්න ඕන නිසා.

මීට පෙරත් සඳහන් කළා වගේ මෙතනදි තියෙන්නෙත් ගති ආකර්ශනය, ගති රුව, ගති ගුණ, ගති හඬ කියන දේවල්මයි. මොකද අපි ග්‍රහණය කරන්නෙ, අල්ල ගන්නෙ මොනවද, ඊට සමාන ඵල ලබන්න හේතු යෙදෙනවා.

එතකොට මේ ලිපි පෙළේ මූලික පරමාර්ථය, කර්මඵල අදහන්නෙ නැති, මිත්‍යා දෘෂ්ටිකව සමාජය මුළා කරන සමහර භෞතිකවාදීන්ගෙන් සමාජය මුදවා ගන්න.

දැන් භෞතිකවාදීන් ඉදිරිපත් කරන මතයක් තියෙනවා, ඔය ග්‍රහ වස්තුවලට පුළුවන්ද මනුස්සයගෙ පැවැත්ම තීරණය කරන්න කියල. මනුස්සයගෙ පැවැත්ම කියන එක උපත, පැවැත්ම, මරණය කියන සාධකයන්ට යටත්. ඉතිං සූර්යා පදනම් කරගෙන තමයි කවුරු වුනත් මේ තුනම විග්‍රහ කරන්නෙ. මොකද සූර්යා පදනම් කරගන්නෙ නැතුව අපට කාලය ගනින්න බෑ. මෙතනදි සූර්යා කියන්නෙ ආලෝකය, කිරණ, ශක්තිය, තාපය. මේක උදාහරණයකින් විමසා බලමු.

අපි කේක් ගෙඩි 2 ක් හදනව කියල හිතමු. මේ කේක් ගෙඩි දෙකටම එකම අමුද්‍රව්‍ය යොදල, එකම වර්ගයේ උඳුන් දෙකක, එකම වෙලාවෙ උඳුන් දෙකම දල්වල, කේක් හදන්න අවශ්‍ය අමුද්‍රව්‍ය ටික දාල විනාඩි 20 ක් පුච්චනවා. මෙතනදි එක කේක් ගෙඩියක් විනාඩි 20 ම පුච්චන අතරෙ අනෙක් කේක් ගෙඩිය විනාඩි 17 දි බාගන්නවා. දැන් කේක් ගෙඩි දෙකම එකම අමුද්‍රව්‍ය දාල හැදුවත්, එකම වෙලාවෙ හැදුවත්, දෙකේ වෙනසක් නැත්ද? මොකද එක කේක් ගෙඩියකට නියමිත තාපය ලැබුනත් අනෙකට නියමිත තාපය ලැබුනෙ නෑ. ඉතිං නියමිත තාපය නොලැබුණ කේක් ගෙඩියේ අඩුපාඩු තියෙනවා. මේ කාරණය හරියට සූර්ය ග්‍රහණ, චන්ද්‍ර ග්‍රහණ, මොහොතක සිදුවන දරු උපත් වගේ. මොකද මේ වගේ ග්‍රහණ මොහොතකදි අපට සූර්යාගෙන්, චන්ද්‍රයාගෙන් ලැබිය යුතු කිරණ ශක්තිය අහිමි වෙනවා. ඒ නිසා මොහොතවල්වල ඉපදෙන දරුවොත් විවිධ ආබාධවලින් පෙළෙනවා. දැන් කියන්න පුළුවන්, ඉතිං තවත් මොහොතවල්වල දරුවො ආබාධ සහිතව ඉපදෙනවා, ඒ හැම දරුවෙක්ම ඉපදෙන්නෙ සූර්ය ග්‍රහණ, චන්ද්‍ර ග්‍රහණ තියෙන මොහොතවල්වලදිද කියල. නමුත් හොඳට බැලුවොත්, රාහු සහ කේතු කියන ඡායා ග්‍රහයන්ගෙ සිදුවන ග්‍රහණ අවස්ථාවලදි තමයි මේ ආබාධ සහිත දරුවන් බිහි වෙන්නෙ.

තව දෙයක් තියෙනවා. ජ්‍යොතිෂයෙදි අපි අද ලේසියට, මවු කුසින් දරුවා එළියට ගන්න මොහොත උපන් වෙලාව කියල තීරණය කළාට, නියම කේන්දරය බලන්න නම් මවු කුසින් බිහිවන වෙලාවෙ පටන් ආපස්සට ගන්ධබ්බයා හෙවත් විඤ්ඤාණය මවු කුසට ඇතුළු වෙච්ච මොහොත ගණනය කරන්න ඕන. ඒ කියන්නෙ ඔක්කන්ති වෙච්ච මොහොත. එතකොට තමයි නියම කේන්දරය ලැබෙන්නෙ.

සූර්යා සම්බන්ධ කරල තවත් උදාහරණයක් ගත්තොත්, සූර්යා ගමන් කරද්දි ඇතිවෙන මාස ක්‍රමයෙදි ඒ ඒ මාසවලට අදාලව එක එක ජාතියේ බෝග උපදිනවා. ඒකෙ විශේෂත්වය තමයි ඒ බෝග නැවත ඊළඟ වසරෙදිත් ඒ මාසයේම පහල වීම. නමුත් දැන් කෙනෙකුට කියන්න පුළුවන්, ජාන වෙනස් කළාම ඕනම මාසයක බෝග උපද්දවන්න පුළුවන් කියල. නමුත් ඒ බෝග ස්වභාවික නෑ, නියම ගුණයෙන් යුක්ත නෑ. අතුරු ආබාධ සහිතයි. ඉතිං සූර්යා සහ අනෙකුත් ග්‍රහ වස්තු තුලින් ලෝකයට එන කිරණ ධාරාව, ගස් වැල්වල මල් ඵල හට ගැනීම කියන කාරණයත් එක්ක සෘජුවම සම්බන්ධ වෙනවා. ඒ කිරණ චක්‍ර ක්‍රමය මනස දියුණු කරල දැකීම තුළින් ජ්‍යොතිෂය විද්‍යාවක් විදිහට පහල වෙනවා. මේ ක්‍රම රටාව චක්‍රයක් විදිහට සිද්ධවෙන නිසා ඒකට ගණිතය භාවිතා කරල ආසන්න ප්‍රමාණයකට සාර්ථක නිගමනවලට එළඹෙන්න හැකියාවක් ලැබෙනවා. හැබැයි ඒක මනසින් දැකිය යුත්තක් නිසා ගණිතය භාවිත කරල ගණනය කිරීමෙදි අඩු ලුහුඬුකම් සිද්ධ වෙන්න පුළුවන්. නමුත් මනස දියුණු කරල බැලීමෙන් ඒකෙ තියෙන සියලු දොස් අයින් කරල නිවැරදිව හේතුඵල දැකල නියම සත්‍යය වටහා ගන්න පුළුවන්.

එක එක ගස්වල බෝග ඒ ඒ කාලයට උපදිනව වගේ තමයි ඒ ඒ කාලයට අපට වන බලපෑමත් සිද්ධ වෙන්නෙ. මෙතනදි ඒකෙන් අපට වන බලපෑම කිව්වට, මේ දේවල් බිහි කර ගත්තෙත් අප විසින්මයි. ඒක තමයි පටිච්ච සමුප්පාද ක්‍රමය. ඉතිං මේ ගැන පෙර ලිපිවලදි දීර්ඝ වශයෙන් සඳහන් කරල තියනවා. ඒ නිසා නැවත කියන්න අවශ්‍ය නෑ. නමුත් අපි ආභස්සර බ්‍රහ්ම ලෝකයේ පටන් මේ ලෝකයට එනකොට දැන් තියෙන මේ කිසිම ග්‍රහ වස්තුවක් බිහිවෙලා තිබුනෙ නෑ. අපි තෘෂ්ණාවෙන් අල්ලා ගැනීම මත තමයි මේ දේවල් හට ගත්තෙ.

දැන් භෞතිකවාදීන් තව දෙයක් කියනවා. ඒ තමයි "හිරු සඳු ජ්‍යොතිෂයේ දෙවිවරු විදිහට සළකනවා" කියන කාරණය. මොකද හිරු සඳු කියන්නෙ අප්‍රාණික වස්තු, දෙවිවරු කියන්නෙ ප්‍රාණයක් තියෙන සත්ත්ව කොටසක්. ඒ නිසා තමයි ඒ අය ඒකට පහර ගහන්නෙ. නමුත් මෙතනදි හිරු සඳු දෙවිවරු විදිහට සළකනව කියන්නෙ, ඇත්තටම බෝග හටගන්න, අපට ජීවත් වෙන්න හිරු විවිධ ආකාරයෙන් උපකාර වෙන නිසා. ඒ වගේම වඩදිය බාදිය වගේ තත්ත්වයන් තුළ සඳුත් අපිට උපකාර කරනවා. විශේෂයෙන් සඳු ලෞකික පැත්තට නෙවෙයි ලෝකෝත්තර පැත්තට තමයි වැඩිපුර උදව් උපකාර කරන්නෙ. නමුත් පුරහඳ පැත්තට තමයි අපේ හෙළයන් ඉස්සර ගොවිතැන් බත් කළේ, සුභ කටයුතු පටන් ගත්තෙ. මොකද ඒ කාලයට නිකුත් වන කිරණ ශක්තිය හෙවත් ගති ආකර්ෂණය තමයි අපට සෞභාග්‍යය උදා කරන්න හේතු වෙන්නෙ. ජ්‍යොතිෂයෙදි සඳු උපමා කරන්නෙ මනසට. ඒකයි ලෝකෝත්තර පැත්තට උපකාර වෙනව කිව්වෙ. ඉතිං මේ හිරු සඳු දෙවිවරු විදිහට සැළකුවෙ ජීවත් වෙන්න අවශ්‍ය සියල්ලම පාහේ අපිට ලබා දෙන නිසා. ඒ දෙන ගතිය නිසා තමයි දේව කිව්වෙ.

උදාහරණ විදිහට අපි දුටුගැමුණු රජතුමා දේවත්වයෙන් සළකන්නෙ එතුමා අපට වැව් අමුණු කරවල අදටත් කාල ඇඳල ඉන්න අවස්ථාව උදාකරල දීපු නිසා. ඒ වගේම විහාර ආදිය කරවල මලක් පහනක් පත්තු කරල පිනක් දහමක් කරගන්න, ධාතුන් වහන්සේලා රැස් කරල චෛත්‍යය තනල ලෝකයටම මහා ශක්තිය විහිදුවන්න, බෙදා දෙන්න සමත් වෙච්ච නිසා. ඔය වගේ අපිට සියල්ල දෙන ගුණය පදනම් කරගෙන තමයි හිරු සඳු දේවත්වයෙන් සලකන්නෙ. ඒ වගේම ඒ අදාළ ග්‍රහ මණ්ඩලවල හිරු සඳු වගේ අපට ආලෝකය සෞභාග්‍යය උදා කරල දුන්න උතුමන් මරණින් මතු දේවත්වයට ගිහින් ඔවුන්ගෙ දේව විමාන තනාගෙන ඉන්නවා. තනාගෙන කිව්වට ඔවුන් ☞

තනා ගත්ත ඒවා නෙවෙයි. ඔවුන් කරපු දේ උරුම වීම නිසා ජනිත වන කර්ම ශක්තියෙන් ඒ ඒ තැන්වල ඔවුන්ට අදාළ විදිහට ඒ විමාන පහළ වෙනවා.

ඉහතදි වඩදිය ගැන සඳහන් කළ නිසා ඒ ගැන යමක් පැහැදිලි කිරීමක් කරන්න ඕන. මොකද වඩදිය කියන්නෙ පුරහඳ තියෙන දවසට ජලය පෙර තිබුනට වඩා වැඩිවන දවසක්. හොඳට බලන්න, මේ පුරහඳ තියෙන දවසට ජල මට්ටම ඉහල යනවා, වැඩි වෙනවා. ඒ විදිහට වැඩි වෙන්නෙ භෞතික දෙයක්. ඒ කියන්නෙ හඳ එළියට, නැත්නම් සඳුගෙන් නිකුත් වන කිරණ ශක්තියට පුළුවන් භෞතික වස්තුවල ස්වභාවය වෙනස් කරන්න, ඉතිං මේක ජලයට විතරක් පොදු දෙයක් නෙවෙයි. **පුර පෝය දවසට මානසික ආබාධ ඇති අයට ඒ ආබාධ වැඩි වෙනවා, ඇදුම රෝගය උත්සන්න වෙනවා, හතිය වැඩි වෙනවා, ප්‍රසව වේදනා වැඩි වෙනවා, කාම ආසාවල් වැඩිවෙනවා. ඒ විතරක් නෙවෙයි සත්තු උඩු බුරලනවා, සතුන්ට පැටව් ලැබෙනවා. මේ වගේ බොහෝ දේ සිද්ධ වෙනවා. ඉතිං මනසේ ක්‍රියාකාරීත්වය ඉහළ යන නිසා පාලනය කරන්න බැරි තත්වයක් උදා වෙලා විකෘති වෙන නිසා තමයි පෝය දවසට සිල් ගැනීම වගේ ආගමික වතාවත්වල යෙදෙන්න කිව්වෙ.**



මොකද පෙර කරල තියෙන දේ උදා වෙලා නරක ගති ඇදිල එද්දි ඒකට මුහුණ දෙන්න ගිහින් එකට එක කරනවා වෙනුවට, එකට සිය දහස් ලක්ෂ කෝටි ගණනකින් නැවත නරක විපාක ගෙන දෙන හේතු හදන නිසා. පෙර අත්බවයක කාගෙ හරි මුදල් හොරකම් කරල තමන්ගෙත් මුදල් නැතිවෙන්න හේතු තියෙන කෙනෙක්, තමන්ගෙ මුදල් අහිමිවෙන අවස්ථාව උදා වුනාම මොකද කරන්නෙ, අර මුදල් ගත්ත කෙනාට බනිනවා, හෙණ ඉල්ලනවා. "ඕකගෙ සේසතම නැතිවෙයන්, හෙණ ගහපන්" කියල කියනවා. ඒක එකට එක කිරීමක්ද නැත්නම් එකට සිය දහස් වාරයක් කිරීමක්ද? මොකද තමන්ගෙ නැතිවුනේ රුපියල් 100 ක් වුනාට "ඕකගෙ සේසතම නැතිවෙයන්" කිව්වම ඒ පුද්ගලයා ළඟ සේසත විදිහට රුපියල් 100,000 ක් තිබුණ නම් තමන් කරගන්නෙ 1ට 1,000 ක විපාක ළඟා කර ගැනීමක්.

මෙතනදි "චේතනාහං භික්ඛවේ කම්මං වදාමි" කියන කාරණය ලෝකයේ තියෙන ක්‍රියාවලියක් නිසා හිතින් නිකුත් කරන ශක්ති ප්‍රමාණයයි බලන්න ඕන. අනික වචනයෙන් කියනව කියන්නෙ, ක්‍රියාවට නංවනවා කියන්නෙ, තමන් තවත් විපාක බලවත් කරගත්ත කියන එක. තමන් හදා ගත්ත විපාකය තවත් බලවත් කිරීමක් තමයි ඒකෙන් වෙන්නෙ.

ඉතිං පෝය දවසට මනසේ ක්‍රියාකාරීත්වයත් ඉහළ යන නිසා ඒ ක්‍රියාකාරීත්වය අධ්‍යාත්මික දෙසට යොමු කර ගත්තොත් හොඳ නිසා තමයි පෝය දවසට විශේෂයෙන් සිල් ගන්න කියන්නෙ, පින් දහම් කරන්න කියන්නෙ.

**බුදු පියාණන් වහන්සේගෙ වුනත් විශේෂ සිදුවීම් සියල්ලම සිද්ධ වෙන්නෙ පුර පසළොස්වක පෝය දවසෙ. ඒ නැකැත් බලල නෙවෙයි. චේතනාව හොඳ නිසාත්, අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ගත් ක්‍රියා මාර්ග නිසාත් හොඳම නැකත ඒ සඳහා ගති ආකර්ශන නියමය අනුව ආකර්ශනය වෙලා එනවා.**

ඉතිං කේන්දර හඳහන් බැලුවෙ නැති වුනත්, මේ දේවල් අපිටත් හරියන්නෙ ඒ ඒ දේවල් නියම නැකතෙ සිද්ධ වෙලා තියෙන නිසා. ඒ නිසා බෞද්ධයන්ට බුදු පියාණන් වහන්සේ නැකතක් හදා ගන්න ක්‍රමයක් දීල තියෙනවා. ඒක තමයි, "මනසා චේ පසන්නේන භාසතිවා කරෝතිවා..." කිව්වෙ.

ඒ කියන්නෙ අලෝභ, අදෝස, අමෝහ සිතින් කටයුතු කරනව නම්, නිරායාසයෙන්ම ඒ කටයුතු හරියනවා, ඒ වෙලාව තමයි නැකත. බුදු දහම කියන්නෙ ලෝකයෙන් එතෙර වෙන දහමක් නිසා බුද්ධ සාසනයේ වැඩවලට නැකත් ඕන නෑ. ඉතිං අපිට අලෝභ, අද්වේශ, අමෝහ සිතක් හදාගන්න බැරුව කොච්චර නැකත් බැලුවත් නියම නැකත ගැලපිලා එන්නෙ නෑ. මොකද නැකත කියන එක ඒ තරමට සූක්ෂමයි. ඒ කාරණය තවත් ලිපියකින් සාකච්ඡා කරන්න බලාපොරොත්තු වෙනවා. නැකැත් විදිහට ගන්නව කියන්නෙ ප්‍රයෝග සම්පත්තියක් භාවිතා කරල, යමක් කරන්න ඊට සුදුසු මොහොත ගැනීම.

දැන් භෞතිකවාදීන් කියන තව කාරණයක් තමයි, බුදු පියාණන් වහන්සේ ජ්‍යොතිෂය ප්‍රතික්ෂේප කළා කියන එක. ඔව්. බුදු පියාණන් වහන්සේ ජ්‍යොතිෂය ප්‍රතික්ෂේප කළා බෞද්ධ භික්ෂුවට. මොකද භික්ෂූන් වහන්සේලා මේ වගේ දේවල් කරද්දි ලාභ, කීර්ති, ප්‍රසංසාවලට අහු වෙලා තමන්ගෙ විමුක්තිය සලස ගන්නෙ නැතිව සසරෙ අතරමං වෙන නිසා. එහෙම නැතුව උන් වහන්සේ ජ්‍යොතිෂ විද්‍යාවට දොස් කිව්වෙ නෑ. අනික උන්වහන්සේලාම තමයි බුද්ධත්වයට පෙරුම් දම් පුරන කාලෙ මහ ඍෂිවරු විදිහට පහළ වෙලා ලෝක සත්ත්වයාට හිත සුව පිණිස මේ දේවල් ලෝකයාට එළි පෙහෙළි කරල දීල තියෙන්නෙ.

අනික බුදු පියාණන් වහන්සේ ලෝකයට පහළ වෙන්න ප්‍රථම මව් කුසට ඇතුල් වෙන්න කාලය, දීපය, දේශය, කුලය, මව කියල පස් මහ බැලුම් බැලුවා. ඒ කියන්නෙ නැකතක් බැලුව වගේ වැඩක්. ඒකට ජ්‍යොතිෂය ගාවගත්තෙ නැතත්, වැඩේ කරන්න නියම මොහොත බැලීම කියන්නෙත් එක්තරා නැකත් බැලීමක් තමයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**071 730 3535**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 7



අද වෙනකොට මිනිස්සු ලෙඩ කරවන අනෙක් ආහාරය තමයි සුදු සීනි. එහෙම කිව්වම කෙනෙකුට එකපාරටම පුදුම හිතෙන්නත් පුළුවන්. මොකද හැමෝම දවස ගානෙ නිතර දෙවේලෙ පාවිච්චි කරන දෙයක් තමයි සුදු සීනි. මීට අමතරව වෙළඳසැල්වල අලෙවි කරන්න තියෙන පැණි රස කෑම බහුතරයකම අන්තර්ගත වෙන්නෙත් මේ සුදු සීනි. නමුත් ඒකෙන් දියවැඩියාව ඇතුළු ලෙඩ රෝග ඇතිවෙන්න හේතු වෙනවයි කියන කාරණය දන්නෙ නෑ.

එතනදිත් කාරණා කිහිපයක් තියෙනවා. එකක් තමයි මේ දැන් තියෙන උක් ගස් අපේ රටේ ස්වභාවිකව තිබ්බ ඒව නෙවෙයි. ඒවා මධ්‍යම ඇමරිකානු රටවල්වල තමයි ස්වභාවිකව වැවුනෙ. අපිට තිබුනෙ කළු පාට ලොකු උක් ගස් වර්ගයක්. එතකොට මේ සීනි කියන එකත් 18 වන සියවසේ වහල් වෙළඳාමත් එක්ක බටහිර රටවල්වලින් අපිට ආපු දෙයක්. නමුත් ඒක නෙවෙයි ගැටළුව. දැන් වැඩි හරියක්ම අපේ රටට සීනි ගෙන්වන්නෙ පිටරටවල්වලින්. ඒ සීනි හදන්න මහා පරිමාණයෙන් කරන උක් වගාවෙදි ග්ලයිෆොසේට් වගේ පූර්ණ වල් නාශකත් වල් මර්දනය සඳහා යොදා ගන්නවා. උක් ගස් කියන්නෙ බොහොම පහසුවෙන් රසායන උරාගන්න ශාකයක්. එතකොට මහා පරිමාණයෙන් නිෂ්පාදනය කරන පිටරටවල්වලින් එන සීනිවල ඒ වගේ රසායන කොච්චර අන්තර්ගත වෙනවද කියන්න අපි දන්නෙ නෑ. ඒ නිසා අපේ රටේ නිෂ්පාදනය කෙරෙන දේශීය සීනි තරම් ආනයනික සීනි සෞඛ්‍යාරක්ෂිත නෑ. ඒ එක කාරණයක්.

මෙතනදී සීනි ස්වභාවිකව ගන්නෙ උක් ගහේ යුසය මිරිකල. ඒක ස්වභාවිකව සීනි බවට පත් කළාම දුඹුරු පාටයි. දුඹුරු සීනි කියන්නෙ ඒක තමයි. දැන් මේ තියෙන ස්වභාවික දුඹුරු සීනිවලට අළු හුණු, ගෙන්දගම්, පොටෑසියම් බ්‍රෝමයිඩ් වගේ කෘතීම රසායන (විරංජන කාරක) යොදල සුදු පාට කළාම තමයි සුදු සීනි ලැබෙන්නෙ.

ඉතිං සීනි සුදු කරනකොට මේ රසායන කොච්චර මාත්‍රාවකින් දානවද කියල කවුරුවත් දන්නෙ නෑ. ඇයි එතකොට දුඹුරු සීනි සුදු කරන්නෙ? මිනිස්සු සුදු පාටට කැමති විඥ්ඥාණයක් හදාගෙන තියෙනවා. ඒ සඳහා ඉල්ලුමක් තියෙනවා. කඩේට ගිහින් ඉල්ලන්නෙත් සුදු සීනි. සුදු සීනි පහසුවෙන් දියවෙනවා. ඇස් දෙකට දක්කම ප්‍රියමනාපයි. සිත් ගන්නා සුළුයි. දුඹුරු සීනි එහෙම නෑ. ඒ පාටට හුඟක් අය අප්‍රියයි. සුදු සීනි තරම් ඉක්මනට දියවෙන්නෙ නෑ. සමහරුන්ට දුඹුරු සීනිවලින් තේ හදල බිව්වම අප්‍රිය රසක් එනවලු. තේ එක කළු පාටට හුරුවෙලා අප්‍රිය පාටක් එනවලු. දැන් මේ ඔක්කොම කතා මිනිස්සු මනසින් ගොඩ නගා ගත් සංකල්ප, විඥ්ඥාණ. එහෙම නැත්නම් විකෘති අදහස්. මොකද දිවෙන් රස බලන්නෙ නැතිව ඇස් දෙකෙනුත් රස විඳින්න යනවා. බාහිර පෙනුම බලල මේක රසයි මේක නීරසයි කියල මනසින් මතයක් ගොඩනගා ගන්නවා. ජීවත් වෙන්න ආහාර ගන්නව වෙනුවට, ආහාර ගන්න ජීවත් වෙනවා.

දැන් ඉතිං මේ කාරණාවලට රැවටිලා අර ස්වභාවික දේ අහකට දාල විස එකතු කරපු දේ පරිභෝජනයට ගන්නවා. ඉතිං සීනි කියන එක වෙනත් දෙයක් වගේ හෝදල විස ඉවත් කරන්න බෑ. ඒ නිසා අර විස රසායනත් එක්ක මිශ්‍ර වෙලා තමයි මේ සුදු සීනි තියෙන්නෙ. දැන් ඒකෙ බලපෑම මොකක්ද, ප්‍රධාන වශයෙන් කුඩා බඩවැලට ගිහින් මේ විස ශරීරයට අවශෝෂණය කරනවා. අන්තරාසර්ග පද්ධතියේ හෝමෝන ඒකෙන් වෙනස් කරනවා, ඒ ක්‍රියාවලියට බාධා කරනවා. මේ කෘතීම රසායන යෙදීමෙන් ඉන්සියුලින් නිෂ්පාදනය කරන අග්න්‍යාශයේ සෛල විනාස වෙනවා. එතකොට ඉන්සියුලින් නිෂ්පාදනය අඩපණ වෙනවා. ඒ නිසා ශරීරයට ගන්න ආහාරවල තියෙන සීනි, සෛලවලට උරා නොගෙන රුධිරයේ එකතු වෙලා පිටාර ගලන මට්ටමට පත්වෙනවා. ඊට පස්සෙ සීනි මට්ටම පාලනය කරන්න බැරි වෙනවා. අවිධිමත් විදිහට යාමනය වන සීනි මට්ටමක් එනවා. ඒක තමයි දියවැඩියාව කියන්නෙ. ඒකෙන් ප්‍රතිශක්තිකරණ පද්ධතියත් දුර්වල වෙනවා.

දැන් ඉතිං මනුස්සයා මුළු ජීවිත කාලය පුරාවටම මොනවහරි ලෙඩක් එක්ක ජීවත් වෙනව වගේ තමයි තේරෙන්නෙ. මොකක්ද මේ අපිට හැදිල තියෙන ලෙඩේ කියල තේරෙන්නෙ නෑ. ඊළඟට දියවැඩියාව හැදුනට පස්සෙ කියනවා මම දැන් සීනි කන්නෙ නෑ කියල. නමුත් සීනිවල ප්‍රශ්නයක් නෙවෙයි මේ තියෙන්නෙ. ඉස්සර මිනිස්සු සීනි කෑවෙ නැත්ද? උදේ, දවල්, රෑ තුන් වේලටම මිනිස්සු තේ කෝපි බිව්වා. කැවුම්, අතිරස වගේ පැණිරස කෑවා. ඒවායේ තිබුනෙත් සීනි. හැබැයි සුදු සීනි නෙවෙයි. ඊටත් ආදි කාලයට ගියොත් අපේ පැරැන්නො කිතුල් හකුරු, තල් හකුරු වගේ 100% ක්ම ස්වභාවික දේවල්වලින් තමයි පැණි රස ගත්තෙ. හැබැයි එදා ඔය කියන දියවැඩියාව තිබුනෙ නෑ. නමුත් දැන් බලන්න අවුරුදු 10 - 15 පාසල් යන ළමයින්ටත් දියවැඩියාව. ඉස්සර දියවැඩියාව රෝගීන් පාසල් ගියා කියල අපි අහල තිබුනද?

හැබැයි 1970 වගේ කාලවල අපේ රටේ මිනිස්සු දැන් වගේ සුදු සීනි භාවිතා කළේ නෑ. දුඹුරු සීනි තමයි භාවිතා කළේ. ලංකාවෙ සීනි නිෂ්පාදනය මදි වුනාම ☞

කියුබාවෙන් තමයි සීනි ගෙනාවෙ. හැබැයි දුඹුරු සීනි විතරයි. කියුබාවෙ සීනි නිෂ්පාදනය ඒ රටේ පරිභෝජනයට වඩා 30% කින් විතර වැඩියි. ඒ අතිරික්තයෙන් තමයි අපිට දෙන්නෙ. මොකද අපේ රටේ සීනි නිෂ්පාදනය, පරිභෝජනයෙන් 15% ටත් අඩුයි. ඉතිරිය ගේන්නෙ පිටරටින්. මොකද හුගක් සීනි කර්මාන්ත ශාලා කිව්වට දැන් ඒවා නමට විතරයි. වැඩි හරියක් ඒවායේ හදන්නෙ එතනෝල්, මත්පැන් වර්ග.

හැබැයි ඉස්සර මෙහෙම දියවැඩියාවක් තිබුනෙ නෑ. මොකද මේ විදිහට ඉවක් බවක් නැතිව වස විස භාවිතා කළේ. එතකොට දැන් ලංකාවෙ දියවැඩියා රෝගීන්ගෙ ප්‍රතිශතය 20% - 30% ත් විතර වෙනවා. හැබැයි සමහර රටවල ඒ ප්‍රතිශතය 1% ටත් අඩුයි. ඒ රටවල දුඹුරු සීනි විතරයි භාවිතා කරන්නෙ. සමහර රටවල්වල සුදු සීනි භාවිතය සම්පූර්ණයෙන් තහනම්. දුඹුරු සීනි සුදු කරල අහු වුනොත් හිරේ යන්න වෙනවා. එහෙම නීතිත් සමහර රටවල්වල පනවල තියෙනවා. නමුත් දැන් අපි මොකද කරන්නෙ කියුබාව, බ්‍රසීලය වගේ රටවල්වලින් එන රතු සීනි බහුජාතික සමාගම් හරහා වෙනත් රටවල්වලදී අර වගේ රසායන ද්‍රව්‍ය එකතු කරල සුදු කරනවා. අපේ රටේ අයගෙ ඉල්ලුමට තමයි එහෙම කරන්නෙ. සමහර රටවල්වල උක් ගහේ යුසය සීනි හදන්න අරගෙන ඉතිරි වන රොඩ්ඩ පවා බෙහෙත් පෙතිවල ආවරණය නිෂ්පාදනය කරන්න ගන්නවා. ඒකෙ කිසිම විසක් නෑ. නමුත් අපිට එන්නෙ වැඩි හරියක් අළු හුණුවලින් (කැල්සියම් කාබනේට්) ආවරණය කරපු බේත් පෙති.

ඉස්සර පැල්වත්ත, යුදගනාව වගේ ප්‍රදේශවල හිටපු මිනිස්සු අතර දියවැඩියා රෝගීන් හමුවෙලා නෑ කියල, ඒ ප්‍රදේශවල සේවය කරපු පැරණි වෙද මහත්වරු කියනවා. මොකද ඒ කර්මාන්ත ශාලාවල ඒ කාලෙ හදපු දුඹුරු සීනි විතරයි ඒ අය භාවිතා කළේ. දැන් ඉතිං මොකද කරන්නෙ, අපේ රටේ නිෂ්පාදනය කරන දුඹුරු සීනි ටිකත් රසායන දාල සුදු කරනවා. ඒ මදිවට පිටරටවලිනුත් සුදු සීනිම එවනවා. මේ සුදු කිරීමේ ක්‍රියාවලියෙදි තවත් ලාභ ලබන අතරමැදියො පිරිසකුත් ඉන්නවා. එක පිරිසක් තමයි ඒ රසායන ද්‍රව්‍ය විකුණන සමාගම්. ඊළඟට ඒ සඳහා යන ශ්‍රමය වෙනුවෙන් අය කරන මුදල්. අන්තිමට මිනිස්සු ලෙඩ වුනාම ඒ අයගෙ බේත් වර්ග විකුණ ගන්න ඖෂධ මාෆියාවකුත් හදාගෙන තියෙනවා. නමුත් මිනිස්සු දැන ගන්න ඕන ස්වභාවිකව තියෙන දුඹුරු සීනි භාවිතා කරන්න. අර කලින් සඳහන් කරපු වැරදි මිත්‍යා අදහස් පැත්තකට දාල ස්වභාවිකව තියෙන දුඹුරු සීනි භාවිතයට හුරු වුනා නම් සුදු සීනිවලට තියෙන ඉල්ලුම අඩු වෙනවා. ඉතිං අද වුනත් සීනි භාවිතය අවම කරල ඒ වගේ ස්වභාවික දේට හුරු වෙනව නම් මේ තියෙන ලෙඩ රෝග හුගක් අඩු වෙනවා.

අනෙක මේ දුඹුරු සීනිවල තියෙන පෝෂ්‍ය කොටස සුදු කරනකොට ඉවත් වෙනවා. හාල් වුනත් දුඹුරු පාට නිවුඩ්ඩ ඉවත් කළාම සුදු වෙනවා. හැබැයි නිවුඩ්ඩෙ තමයි හොඳම පෝෂ්‍ය කොටස තියෙන්නෙ. ඒ වගේ දුඹුරු සීනි කියන්නෙ ස්වභාවිකව තියෙන පෝෂ්‍ය කොටස. ස්වභාවික දේ ස්වභාවික විදිහට ගත්තම විස නෑ. ඒකෙ ශරීරයට අවශ්‍ය ප්‍රතිශක්තිය, ජීව ගුණය තියෙනවා. ඉතිං සමහරු සුදු සීනිවලට වඩා දුඹුරු සීනි රුපියල් හත අටකින් වැඩියි කියල ඒක ගන්නෙ නැතිව වහ කනවා. නමුත් රුපියල් හත අටක් ඉතිරි කරගෙන ලෙඩ වුනාම ඊටත් වඩා සිය දහස් ගුණයකින් බෙහෙත්වලට වියදම් කරන්න වෙනවා. ඒකත් ඒ අයගෙ තියෙන වෙළඳ උපායක්.

**හැබැයි ඉස්සර තිබ්බ්ච දුඹුරු සීනි තල් සූකිරි වගේ දුඹුරු පාටයි. නමුත් දැන් තියෙන දුඹුරු සීනිත් ඉස්සර තරම් දුඹුරු පාට නෑ. මොකද ඒවත් එක්තරා ප්‍රමාණයකට සුදු කරල තමයි දැන් එවන්නෙ. එතකොට ඒවටත් යම් කිසි රසායන සංයුතියක් එකතු වෙනවා. ඒ නිසා මේ දැන් තියෙන දුඹුරු සීනිත් හොඳයි කියනව නෙවෙයි. සුදු සීනිවලට සාපේක්ෂව හොඳයි.**

දැන් ඉතිං මේ ඔක්කොටම මුල බැලුවොත්, අපිට තිබ්බ්ච බුදු දහමෙ හරය වැහිල යෑම නිසා තමයි මේ වගේ දේවල් සිද්ධ වෙලා තියෙන්නෙ. මොකද මේ ජීවිතය පවත්ව ගන්න ආහාර ගන්නව වෙනුවට, රස පිණිස හැඩ වැඩ පිණිස, පිට ඔපයට ආහාර ගන්න ජීවත් වෙනවා. මේ ලෝකයේ අසාරත්වය පෙන්වන දහම යටපත් වුනාම මිනිස්සු විකෘති අදහස් ගන්නවා. විවිධ පාටට, රසට කැමති විඥ්ඥාණයක් හෙවත් විකෘති ඥාණයක් හදාගෙන ඒ පසු පස්සෙ දුවනවා. අපේ පැරැන්නො ජීවත් වුනේ කොහොමද කියල හිතන්නෙ නෑ. වෙළඳපොළට එන ඕනම කුණු ගොඩක් හොයල බලන්නෙ නැතිව මිලදී ගන්නවා. තාවකාලික ආස්වාදයකට කොටු වෙලා ජීවිත කාලෙම ලෙඩ රෝගවලින් දුක් විඳිනවා. පිනක් දහමක් කරගෙන සසර ගොඩ යන්න තියෙන දුර්ලභ අවස්ථාව ප්‍රයෝග විපත්තිවලින් යටපත් කරගන්නවා. ඒ නිසා මේ කරුණු කාරණා හෙළිදරව් කරන්නෙ, සෞඛ්‍ය ආරක්ෂිත ආහාර පරිභෝජන රටාවකට හුරුවෙලා දුර්ලභව ලැබ්ච්ච මනුස්ස ජීවිතය ප්‍රයෝග විපත්තිවලට නොවැටී ආරක්ෂා කරගෙන මේ සසරෙන් එතෙර වෙන්න ඉදිරි පරම්පරාවටත් කෙරෙන දැනුවත් කිරීමක් සඳහා මිසක් කාත් එක්කවත් ද්වේශයක් අමනාපයක් හදාගන්න නෙවෙයි.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ.

වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)
0777-193907 / 071-8585621 / 078-4891332 / 077-1620072



# සමාධිමය අත් බෙහෙත්

පසුගිය කලාප කිහිපයකින් විවිධාකාර සෙම් අමාරු නිසා හට ගන්නා රෝග සඳහා යොදා ගන්න පුළුවන් ඖෂධ වර්ග කිහිපයක්ම සඳහන් කළා. වහරක අභයරතනාලංකාර හිමියන්, ගිහි වතක සිටියදී ප්‍රතිකාර ගැනීමට පැමිණි, සෙම මුල්කරගත් රෝගීන් සඳහා බෙහෙත් සමාධියෙන් මතු කර ගත් තවත් ඒ වගේම ඖෂධ වර්ග කිහිපයක් තමයි මේ සඳහන් කරන්නෙ.

කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ඇයි සෙම් අමාරුවලට විතරක් මේ තරම් බේත් වර්ග කියල. ඒකට හේතුව තමයි හැම රෝගියෙකුටම එකම බේත ප්‍රත්‍ය නොවීම නිසා විවිධ රෝගීන් සඳහා ගැලපෙන විවිධ බේත් වර්ග සමාධියට ගැලපිලා ඒම. හැබැයි ඒ බේත් පොදුවේ හැමෝටම පාවිච්චි කරන්න පුළුවන්. කිසිම අතුරු ආබාධයක් ඇති නොවන නිසා එක බේතකින් සුව වෙන්නෙ නැත්නම් තවත් බේතක් පාවිච්චි කරල බලන්න පුළුවන්. එහෙම පාවිච්චි කරල බලල තමන්ට වඩාත් ගැලපෙන බේත හොයාගන්න පුළුවන්. සමහරවිට සෙම් අමාරු පවතින ස්ථාන අනුව බේත් වර්ග කිහිපයක්ම ප්‍රත්‍ය වෙන්න පුළුවන්. මොකද මේ වෙනකොට සෙම නරක් වීම නිසා හට ගන්නා රෝගත් බහුලයි. ඒ කොහොම වුනත් මේ ස්වභාවික අමුද්‍රව්‍ය යොදාගෙන හදන බේත්වලින් මොනවහරි යහපතක් මිසක් අයහපතක් වෙන්නෙ නෑ. හැබැයි මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියළු බේත් වර්ග ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් දැනගන්න ඕන.

## දරුවන්ගේ සෙම් අමාරු සඳහා

කුඩා දරුවන් මව් කුස තුළ ඉන්නකොට තැලීමෙන් හට ගත් හිසේ සහ පපුවේ සෙම ඉවත් කිරීම සඳහා තමයි මේ තෙල විශේෂයෙන් ප්‍රත්‍ය වෙන්නෙ. මේ සඳහා කළුදුරු, උළුහාල්, වියළි ඉඟුරු, සතකුප්ප, නෙල්ලි, හීන් උඳුපියලිය කියන අමුද්‍රව්‍යවලින් කලං 4 බැගින් අරගෙන කොටාගෙන ඒ මිශ්‍රණයට පිරිසිදු තල තෙල් බෝතල් 1/2 ක් දාල සමපාක අවස්ථාවට එනකල් හිඳගන්න ඕන. ඒ විදිහට එන තෙල උදේ හවස හිසේ, පපුවේ ගෑමෙන් මේ කියන සෙම් අමාරු දුරුවෙන්න හේතු වෙනවා.

## මොළයේ සහ ශරීරයේ බැඳී ඇති සෙම කැටි ගැලවීම සඳහා

ඉඟිනි ඇට සහ රත් හඳුන් කලං 3 බැගින් අරගෙන පිරිසිදු පොල් තෙල් බෝතල් 1 ක් මිශ්‍ර කරල තෙල් හිඳගෙන හිසේ ගල්වන්න.

මේ අමුද්‍රව්‍යම කලං 6 බැගින් අරගෙන පිරිසිදු පොල් තෙල් බෝතලයක් සමග මිශ්‍ර කරල සමපාකයට හිඳ ගැනීමෙන් හිසේ කරවෙච්ච නහර ප්‍රකෘති වීමට යොදා ගන්නත් පුළුවන්.

## හිසේ සෙම හා තැලීම් ලේ ඉවත් කිරීම සඳහා

නා ගසේ කොළ, දළු, මල්, මුල්, පොතු කියන පස්පංගුව කලං 6 බැගින් සහ මුරිසි අන්නාසි බොඩ, රත් හඳුන්, සුදු හඳුන්, හල්මැලියම්, මී ඉටි කියන මේවා කලං 6 බැගින් අරගෙන හොඳට කොටාගෙන ඒ මිශ්‍රණයට පිරිසිදු තල තෙල් බෝතල් 1/2 මිශ්‍ර කරල සමපාකයට එන කල් හිඳගන්න. ඒ විදිහට එන තෙල දිනපතා හිස ගල්වන්න.

## නහරවල සහ බඩේ බැඳුනු සෙම ඉවත් කිරීම සඳහා

ලෙලි ගසා ගත් කරුංක ගෙඩි පුච්චල එන අඟුරු අරගෙන පිරිසිදු කිතුල් පැණියෙන් අඹරල තිබ්බොටු ගෙඩි තරමට ගුලි කරගෙන උදේ රාත්‍රී ආහාරයට පෙර හෝ පසු ගන්න.

## සෙම මුල් කරගෙන සෑදුනු තුවාල වේදනා කැක්කුම් සඳහා

බේත් කපුරු පෙති, රත් හඳුන්, බේත් අනෝද කොළ, තිප්පිලි කොළ, කඩු පහර කියන මේ අමුද්‍රව්‍ය කලං 6 බැගින් අරගෙන මී තෙල් අවුන්ස 2 යි, පිරිසිදු පොල් තෙල් බෝතල් 1 1/2 යි කලවම් කරල තෙල් හිඳගන්න. ඒ තෙල තුවාල, වේදනා කැක්කුම් ඇති තැන්වල ගැල්වීමෙන් මේ රෝගී තත්ත්වයන් දුරු වෙන්න හේතු වෙනවා.

## සෙම නිසා මතු වන පලු සඳහා

කුප්පමේනිය දළු, නා දළු, අමු ඉඟුරු, තිප්පිලි කුඩු, රසකිඳ පිටි කියන මේ අමුද්‍රව්‍ය සම බරට අරගෙන මී පැණියෙන් අඹරල කෝපි ගෙඩි තරමට ගුලි කරල උදේ හවස ඉතා මඳ රස්නෙ උණු දියෙන් බොන්න ගන්න.

(මේ හැම ඖෂධයක්ම වැඩිපුර හදාගන්න අවශ්‍ය නම් මේ අනුපාතයන් එන විදිහට අමුද්‍රව්‍ය වැඩි කරගන්නත් පුළුවන්. )

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 65 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ රජිතා විදුරංසි ජයසේකර මහත්මිය - කැලණිය ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා, තත්‍යානා යුරේවිනා මහත්මිය, පතිරගේ ආන්‍යා පෙරේරා සහ පතිරගේ පොලීනා පෙරේරා යන දියණියන් - නැදිමාල - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ රූපා මුණසිංහ මහත්මිය - කොහුවල - රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඩබ්. කේ. නලිනසේකර මහතා සහ ඩබ්. ප්‍රේමවතී මහත්මිය - වලල්ලාවිට - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා ඇතුළු පවුලේ සැම - විජේරාම - රු. 2,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 2,000/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 2,000/- ■ හෂිත අබේරත්න මහතා ඇතුළු පවුලේ සැම - කෑගල්ල - රු. 2,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු. 2,000/- ■ මනෝරි ඉන්ද්‍රරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,320/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - කළුතර - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නලින්ද ප්‍රේමරත්න මහතා - මහරගම - රු. 1,000/- ■ එරන්දතී සඳසීලි මහත්මිය - කන්තොට - රු. 1,000/- ■ දුෂාන් සන්දීප ලියනාරච්චි මහතා ඇතුළු පවුලේ සැම - පෝරුවදණ්ඩ - රු. 1,000/- ■ කේ. ඩී. කීර්ති සෙනරත් මහතා - දංකොටුව - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ශාන් ප්‍රේමතිලක පුතා - රදාවාන - රු. 1,000/- ■ වඩුතන්ත්‍රිගේ හේමන් මහතා ඇතුළු පවුලේ සැම - වැල්ලවත්ත - රු. 1,000/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ජීවනී ජයසිංහ මහත්මිය - හබරාදුව - රු. 1,000/- ■ සුපිම් මෙනෙවිය, ගාමිණී මහතා, ශාන්ති මහත්මිය - හෝමාගම - රු. 1,000/- ■ එම්.ඩබ්. එරන්දිකා ශිවන්ති මහත්මිය - මහරගම - රු. 1,000/- ■ පූජ්‍ය උපරතන හිමි , ඒ. එම්. තිලකා අධිකාරි මහත්මිය - හලාගිරිය - රු. 1,000/- ■ තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, පී. කේ. අබේකෝන් මහත්මිය, ඩබ්.ආර්. ගුණතිලක මහතා සහ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, කරුණා මහවත්ත මහත්මිය - බෝපෙ, ප්‍රියන්ත රණසිංහ මහතා - මීගොඩ, උපාලි ජයවර්ධන මහතා - ගාල්ල, ඩී.ජී.ටී. මැණිකේ මහත්මිය - යටිවල්දෙනිය, එම්. ආර්. බන්දුල සේනාරත්න මයා - රඹුක්කන, චතුර මල්වාන මහතා - කෑගල්ල. ශ්‍යාමලී වික්‍රමසිංහ මහත්මිය, රංජිත් පතිරණ මහතා - එකතුව - රු. 5,300/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 190,120/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 263,000/- ■ අනෙකුත් වියදම් - 11,570/- ■ සම්පූර්ණ වියදම - රු. 274,570/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**
www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688
**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**
සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්
**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මඟුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (31) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (32) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙ දර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 (33) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (34) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - අංක 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (35) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (36) සසුන සෙනසුන බ්‍රහ්ම විහාරය, බණගේතැන්න, මතුරට, වලපනේ - 077-7770582 (37) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 - 4569500 / 035 - 3222220

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**



# තිරිසන් අපායක තතු දැන ගනිමු මෙසේ...

සාහිත රසය ඔප කළ මුදු කුරුළු නද
පීඩිත වන සතුන් කොතරම් හිඳිනවද
කෝ හිතවතෙක් බේරෙනු බැරි ලොවක හිඳ
පාපෙක මහත උරුමව ලද දුකම විඳ

දැන බියකින් පෙලී මා ගොදුරුද කාගේ
පැන යන්නට සැඟව යළි දිව යති වේගේ
මොන යම් විපාකෙක පල ලැබෙතිද නෑගේ
උනුනුත් කා ගනී පෙර ගනුදෙනු වාගේ

බැරි විසඳුමකි ගැටුමක ගම් වැදුන අලී
ගෙරි එළු කුකුල් ඌරුද මස පිණිස බිලී
පිරියද මසුන් මේසය මත දුඟද පිළී
තිරිසන් අපායක මේ දුක දෙවන කලී

දිටි සෝ දසුන ගිනි දැනවුව පිට රටක
පැටියකු ඇත් කුලේ මව අසලම ළඟක
කොටි දෙදෙනෙක් ගියේ ඇදගෙන හනි හනික
වැටි අසරණව හුන් මව වැලපුනි වළක

ඉල්ලනු බැරිව අහරක් කුස ගිනිද විඳී
දැල් වූ ගිනිද නොහොබින කම් ලොවට බෙදී
ගල් පාරක් වදී හැම අගු පිලම නිදී
බල්ලෙක් වෙලත් කුමටද සැප තැනක හැදී

මග මාරුව දුටුව ගව රැල පෙර බවෙක
සඟ රුවනද සමග බුදු හිමි වැඩි දිනෙක
වගතුග මඳහසින් දෙසු ඔබටද මතක
හඟවනු බැරිය හර කෑ වරදක දොසක

අවිහිංසක ලේන සා මුව බියෙන් පෙලී
ගැරඬින් කුරුළු මී ගෙඹි දුටු සැණින් ගිලී
ඉපදෙන්නට තැනක් නොව රාගයෙන් වෙලී
මිනිසුන් ලෙසද දෝසය ගිනි පුලිඟු දැලී

වරදක් පසු පසම එන ගැල සහ රෝද
භගවත් හිමි දෙසූ දම් නිබොරුය නේද
සිරවෙත් කූඩුවල තව කොතරම් වේද
තිරිසන් සතුන් දුක් විඳවති නැත වාද

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ





# ඉක්මන් කළොත් හොඳමැයි...

පරමායුසත් හැට හැත්තෑවට අඩු වී
බර භාගයක්වත් අඩු නැත හිත රළු වී
වෛර දා ගියත් රිසි ලෙසකට නැත ඉටු වී
හැර දා මළත් පෙර ලෙසටම ඇත සිදු වී

සිදු වන නපුරු දේ දින දින දියත තුල
වැඩි වන ලකුණු පහළව ඇත වැනිය රල
පර වන කයට එන්නට පෙර අනිටු පල
සුව වන දම් අසනු බලනට නොමැත කල

මෙරු මෙන් ඉගිල යන කෙටි කලකට අසුව
අදමින් දිවි ගෙවා සැප විඳිනට පසුව
පණ මෙන් රැකන් සිටියත් අවිදුව මුසුව
හරසුන් වෙයි සියල්ලම ලොව මත වැසුව

කෙටි කාලයයි හැම දෙනටම තව ඇත්තේ
වටිනා දෙයක් තුන් ලොව කිසි තැන නැත්තේ
සිටිනා තැනක කවුරුද රිසි ලෙස ගත්තේ
හැටි දැන හරිනු සිත නොනැසී ලොව මත්තේ

නිවන් දෙන දහම මොහොතකි පවතින්නේ
පවන් හමන මෙනි දිගු කල යට යන්නේ
මෙවන් කලක නැත හැම දෙන උපදින්නේ
ගෙවන් නොම නිකං කල් අඳුරකි එන්නේ

දක්කන දේ දුගතියට සත බොහොම දුර
රක්කන ලොවකි ගෙන මිණි මුතු ලෙසට හර
දුක් දෙන ලොවක මායා සැප ඉවත හැර
ඉක්මන් කළොත් හොඳමැයි සිත මරුට පෙර

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1065 Rs.25.00

Hela Bodu Piyuma 65

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී